සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ බක් මස (ව්‍යවහාරික වර්ෂ 2019 අප්‍රේල්)

92 වෙනි කලාපය



## “මරණින් මතු උපතක් නැත” යන භෞතිකවාදී දෘෂ්ටිය බිඳින අයුරු

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-



# බුදු බණ...

සිත කය වදන යන
තිදොර සංවර කර ගෙන
දැහැමිව වසන දන
නසති මොහඳුර නිවන අනු දැන

පර පණ තොර කරන
වැරදි කම් සැප ගිජු වන
සොරකමෙහි නියැ ලෙන
පව්ටු අය වෙති නිරය හිමි වන

මුසා බස් පවසන
පිසුනු හිස් බස් දොඩ වන
අසැබි බස හසුරන
දුදන බොහො වෙති ලොවෙහි නිවසන

මසුරුකම් දුරලන
තරහව මුලින් සිඳලන
මිසදිටු බව නසන
සුදන වෙති ගුණ දහම් සුරකින

අරි අටැඟි මග දැන
සිල්වත් බවට සපැමිණ
පැන ඇස ලබති දන
එයයි හරි බොදුවෙකුගෙ අරමුණ

එම මග හැඳින දැන
දැහැමිව වසන බොදු දන
සසර දුක ජය ගෙන
නිවෙති අජරවු අමර නිවනින

සිව් සස් දහම දැන
දුක නැසුම විය අරමුණ
මුනිඳු බුදු නුවණින
මග කියා දුනි සතට අසරණ

නිති සිල් පද රකින
බුදු බණට සිත යොමු වුන
බොදුනු ගුණ දහමින
රැකෙති බුදු දම් සඟන සරණින

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# නමාමි බුද්ධං ගුණ සාගරන්තං...

**නමාමි බුද්ධං ගුණ සාගරන්තං
සත්තා සදු හොන්තු සුඛී අවේරා**

**කායෝ ජිගුජ්ජෝ සකලෝ දුගන්දේ
ගච්ඡන්ති සබ්බේ මරණං අහංච**

පුංචි කාලෙ දහම් පාසල් යනකොට බොහොම ආසාවෙන් නිතරම වගේ සජ්ජායනා කරන පැරණි ගාථාවක් තමයි මේ. අපේ ගෞරවනීය හාමුදුරුවරුත් බොහොම ලස්සනට මේ ගාථාව සජ්ජායනා කරන නිසා පුංචි ළමයි පවා බොහොම කැමතියි. බොහෝ දෙනෙකුට මේ ගාථාව කටපාඩම්. හැබැයි මේ ගාථාවෙ තේරුම දන්නවද කියල ඇහුවොත් කී දෙනෙක් නම් ඔව් කියයිද? අපි වුනත් එදා මේ ගාථාව කනට මිහිරි නිසා, කවියක් වගේ ලස්සනට කියන්න පුළුවන් නිසා ප්‍රිය මනාපයෙන් සජ්ජායනා කළත් ඇත්තටම තේරුම දැනගෙන හිටියෙ නෑ.

මේ ගාථාවෙන් කියවෙන්නෙ බුද්ධානුස්සතිය මුල් කරගෙන ඉතා කෙටි කරපු සතර කමටහනක් කියල දැන ගත්තෙ වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගෙන්. උන්වහන්සේ මේ ගාථාව සතර කමටහන් විදිහට වඩල යම් කිසි අත්දැකීම් ලබාගෙන මේ ගාථාවෙ ලෝකෝත්තර අර්ථය පැහැදිලි කරල දුන්නා. **බුද්ධානුස්සතිය, මෙත්තානුස්සතිය, අසුභානුස්සතිය, මරණානුස්සතිය කියන සතර ආරක්ෂාව තමයි සතර කමටහනක් විදිහට ඉතාම කෙටි කරල මේ ගාථාවෙන් ඉදිරිපත් කරල තියෙන්නෙ. තවත් විදිහකට කියනව නම් මෙලොව, පරලොව, නිවන යන තුන් අභිවෘද්ධියම සලසන ගාථාවක්.**

"නමාමි බුද්ධං ගුණ සාගරන්තං" කිව්වම, බුදු ගුණ සාගරයට උපමා කරනවා, එහෙම නැත්නම් සමාන කරනවා කියල තමයි හුගක් අය හිතාගෙන ඉන්නෙ. නමුත් එහෙම ගුණ සීමා කිරීමක් හෝ සමාන කිරීමක් නෙවෙයි මේකෙන් කියවෙන්නෙ. මොකද අනන්ත බුදු ගුණ එහෙම සීමා කරන්න බෑ, තවත් දේකට සමාන කරන්න බෑ. අසමසමයි. ඒ නිසා සාගර සීමාවත් ඉක්මවා ගියා කියන එකයි මේකෙන් කියන්නෙ.

"සත්තා සදා හොන්තු සුඛී අවේරා" - සත්වයෝ සුඛයට, අවෛරයට පත් වේවා. ඒ තමයි මේකෙන් කියවෙන මෙත්තානුස්සතිය. හැබැයි මේ කියන්නෙ නිකම්ම ලෞකික මෙත් වැඩීමක් ගැන නෙවෙයි. ඒ කියන්නෙ කයේ නිරෝගී බව ලැබිල කායික සුඛයට පත් වෙලා, ඒ හේතුවෙන් කිසිවෙක් සමග තරහක් වෛරයක් ඇති නොවේවා කියල ඒ අදහසින් විතරක් නෙවෙයි. මොකද ඒ ලෞකික මෙත් වැඩීම බුද්ධ සාසනයෙන් පිටත් තියෙනවා. අබුද්ධෝත්පාද කාලයෙත් තියෙනවා. ඒ නිසා මේ ලෝකයේ අසාරත්වය දැකල, ඒ මූලික දහම් අවබෝධය ලබාගෙන, කෙළෙස් සන්සිඳීමෙන් ලබන මානසික සුවයට පත් වෙලා අන්න ඒ අවබෝධය, සුවය අනෙක් සත්වයින්ටත් ලැබේවා කියන ආර්ය මෙත් අදහස තමයි මෙතැනදි මූලික වෙන්නෙ.

"කායෝජිගුජ්ජෝ සකලෝ දුගන්ධෝ" - මේ කය සියලු ආකාරයෙන් මළ මුත්‍රා වගේ දුගඳයි, අසුභයි, ගන්න හරයක් නෑ කියන අසුභානුස්සතිය තමයි මේ පදයෙන් කියවෙන්නෙ. අද මේකට පිළිකුල් භාවනාව කියල කිව්වත්, **දහම් දැකපු ආර්යන් ලෝකයා පිළිකුල් කරන දේවල් පිළිකුල් කරන්නෙ නෑ කියල දහමේම සඳහන් වෙනවා.** ඒ නිසා මේ කයේ ගන්න හරයක් නෑ, අසුභයි කියන කාරණයයි දකින්න ඕන.

"ගච්ඡන්ති සබ්බේ මරණං අහංච" මේ සියල්ලම මරණයට පත් වෙනවා, ඒක වළක්වන්න කාටවත් බෑ. මරණය කියන එක මස් ලේ කයේ අවසානයේ විතරක් නෙවෙයි, මොහොතක් පාසාත් සිද්ධ වෙනවා. හිත කය දෙකම මොහොතක් පාසා මැරෙනවා. ඉතින් ඕක දැකල මැරෙනවයි කිය කියා ඉන්න එක නෙවෙයි කරන්න තියෙන්නෙ. එහෙම මැරෙන ලෝකයක මැරි මැරී තවත් මොකට ඉන්නවද? මොන හරයක් ලබන්නද? ඒ නිසා මැරෙන්න පෙර ලෝකයේ අසාරත්වය දැකල අත්හැරල මිදෙන්නයි උත්සාහ ගන්න ඕන.

දැන් මේ සතර අනුස්සතිය මීට කලින් මේ සඟරාවෙ 1, 2, 3 කලාපවලින් විග්‍රහ කරල තියෙන නිසා නැවත විස්තර කරන්න අවශ්‍ය නෑ. ඒ කලාප නැවත කියවල බලන්න පුළුවන්.



# මහා විද්‍යාඥයා පෙන්වා දුන් සිවු අරිසස් දහම

07

ආර්යයන් විසින් දකින දුක හෙවත් දුක්ඛ ආර්ය සත්‍යය ගැන පසුගිය කලාප කිහිපයකින්ම විග්‍රහ කළා. ඒ වගේම සාමාන්‍ය ලෝකයා දකින දුකෙන් ඒ දුක වෙනස් වෙන හැටිත් පැහැදිලි කළා. දැන් මේ විස්තර කරන්න යන්නෙ, එබඳු වන්නා වූ දුක යැයි යමක් ඇත්නම්, ඒ දුක හට ගැනීමට හේතු වන කාරණය හෙවත් දුක්ඛ සමුදය ආර්ය සත්‍යය පිළිබඳව එක්තරා ආකාරයකට දැනුවත් කිරීමක්.

පසුගිය කලාපයෙන් මාළුන්ට දාන ඇමක උපමා කතාවක් විස්තර කළා. මාළු බිලී බාන්න යන මනුස්සයෙක් බිලී කොක්කක අමුණල ඒ මාළුවා ප්‍රිය කරන රසවත් ආහාරයක් ඇම විදිහට දානවා. අන්න ඒක මාළුවා විසින් ගිලින්න ගියාම අර බිලී කොක්කෙ ඇමිණිලා මරණයට හෝ ඒ සමාන දුකකට භාජනය වෙන්න සිද්ධ වෙනවා. අන්න ඒ වගේ, මේ පංච කාම සම්පත් නමැති ඇමක් ලෝක ධර්මතාවයක් වශයෙන් මේ ලෝකයට බිහි වෙලා තියෙනවා. මෙන්න මේ පංච කාම සම්පත්තිය නමැති ඇම නිසා තමයි ලෝක සත්වයාට කෙළවරක් නැති දුක් ගොඩකට මුහුණ දෙන්න සිද්ධ වෙලා තියෙන්නෙ, නොයෙක් විදිහෙන් පෙළෙන අසහනකාරී තත්වයන්ට මුහුණ දෙන්න සිද්ධ වෙලා තියෙන්නෙ.

යම් කිසි පුද්ගලයෙක්ගෙ මුළු ජීවිත කාලයක් අරගෙන බැලුවොත්, ඒ පුද්ගලයා මොනවායින්ද අසහනකාරී වෙලා තියෙන්නෙ, පෙළිල තියෙන්නෙ? **යම් තරමක් ඇඬුව නම්, යම් තරමක් දුක් වුනා නම්, යම් තරමක් දාහයට පත් වුනා නම්, අසහනකාරීත්වයට පත් වුනා නම්, පෙළුන නම්, නොයෙක් ආකාරයෙන් තාඩන පීඩනවලට ගොදුරු වුනා නම්, ඒ හැමදේකටම තමන්ගෙ පැවැත්ම සහ ඒ පැවැත්ම තුල තමා විසින් බලාපොරොත්තු වෙන ආස්වාදජනක තෘප්තිය මුල් වෙලා තියෙනවා.** ඒ නිසා, මේ පැවැත්ම හට ගත්තට පස්සෙ ඒ පැවැත්ම සඳහා කායික වශයෙන් විඳින දුකට වෙහෙසට ගෝචර වෙන්න සිද්ධ වෙනවා. ඒ විතරක් නෙවෙයි, ඊට අමතරව අපි ඇති කරගෙන තියෙන අසීමිත බලාපොරොත්තු නිසා ලෝකයේ කෙළවරක් නැතිව තියෙන ඒ බලාපොරොත්තුවලට මුහුණ දෙන්න ගිහින් අසහනකාරී තත්වයන්ට පත්වෙන්න සිද්ධ වෙලා මානසික වශයෙන් දුක් විඳිනවා.

සමහර වෙලාවට ඒ අසහනකාරීත්වය සුළුපටු නෑ. යම් කෙනෙක් තමන්ගෙ දිවි හානි කරගන්න තරම්, නොයෙක් ආකාරයෙන් තමන්ගෙ ශරීරය කපාකොටා ගන්න තරම්, තවත් පුද්ගලයෙකුට හිංගි හිංසා

ඒ නිසා මේ කෙටියෙන් තමයි සඳහන් කළේ.

ඊළඟට මේ ගාථාවෙ "නමාමි බුද්ධං ගුණ සාගරන්තං" කියන බුදුන් සිහි කරන කොටස දහම්, සඟුන් සිහි කරලත් වඩන්න පුළුවන්. "නමාමි ධම්මං සුගතේන දේසිතං" කිව්වම, සුගත තථාගතයන් වහන්සේ විසින් දේශනාකොට වදාළ ධර්ම රත්නය නමස්කාර කරමි කියන අදහස එනවා. එතැනදිත් ගුණ සීමා කිරීමක් කරන්නෙ නෑ. ගාථාවෙ ඉතිරි පද තුන කලින් විදිහටමයි. ඊළඟට "නමාමි සංඝං මුනිරාජ සාවකං" කිව්වම, සුගත මුනීන්ද්‍රයන් වහන්සේගේ ශ්‍රාවකයන් වහන්සේලා නමස්කාර කරමි කියන අදහස කියවෙනවා. මේ සියලු ගුණ, සාගරයත් ඉක්මවා අප්‍රමාණයි කියන කාරණයත් තේරුම් ගන්න ඕන.

මේ විදිහට මේ ගාථාවෙ මුල් පදය බුද්ධානුස්සතිය, ධම්මානුස්සතිය, සංඝානුස්සතිය කියන ත්‍රිවිධ රත්නයම සිහි කරල වඩන්න පුළුවන්. හරියට අර්ථ දැනගෙන සජ්ජායනා කරනකොට කායික අසනීප ගති, දාහ ගති තියේ නම් ඒවා දුරු වෙලා ක්‍රමයෙන් ශාන්ත භාවයට පත්වෙන්න, නිවීමට පත්වෙන්න, සමාධිගත වෙන්න හේතු වෙන බව වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ අත්දැකීමෙන් ප්‍රකාශ කරල තියෙනවා.

*සටහන :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

කරන්න තරම්, මරන්න තරම් රෞද්‍ර වෙන්න හේතු වෙන විදිහට, නොයෙක් ආකාරයෙන් මානසික දූෂ්‍යතාවයට පත් වෙනවා. නොයෙක් ආකාරයේ අවැඩ අසාධාරණ කරනවා. අද කාලයේ දිනපතාම මේ වගේ දේවල් අහන්න දකින්න ලැබෙන නිසා ඒ ගැන අමුතුවෙන් කියන්න දෙයක් නෑ. නමුත් ඒ සඳහා සාමාන්‍ය ලෝකයා හෝ ලෝක සම්මත සමාජයේ පිළිගත් සමාජ විද්‍යාඥයන් හෝ හරියට දැන හඳුන නොගත්ත ධර්මානුකූල හේතුව තමයි දහමෙන් හොයාගන්න ඕන.

දැන් මේ ඉහත විස්තර කරපු තත්වයට පත් වෙලා, මගේ ගොඩ ලොකු කරගන්න, මගේ ආස්වාදය විඳගන්න, මගේ බලාපොරොත්තු සඵල කරගන්න ඕන කියන මේ ආකාරයේ අදහස් ඇති කරගෙන, එබඳු වන්නා වූ හැඟීමකින් දැඩි බවට පත් වෙනවා. මෙන්න මේ විදිහට දැඩි බවට පත් කරන්න තරම් මහා බලයක් ඒ ආස්වාදයන්ගෙන් මුලාවට පත් වෙලා ඒවා ඇසුරු කරන්න යන ලෝක සත්වයාට ඇතිවෙනවා.

එහෙනම් මෙතැනදි තේරුම් ගන්න ඕන, මේ තරම් අධික බලාපොරොත්තුවක් ලෝක සත්වයාට ඇති වෙන්නෙ මොකක් නිසාද? ඒ වස්තුව මට හරි ප්‍රියයි, මට හරි මනාපයි, මෙන්න මේ ආස්වාදයට මම කැමතියි, මේවා හරි වටිනවා, ආස්වාදජනකයි... ආදී වශයෙන් මෙන්න මෙබඳු අසහනකාරී ස්වභාවයක් මානසිකත්වය තුල ගොඩ නැගෙන නිසා. එහෙනම් අපි දකින්න ඕන, ඇයි මේ ලෝක සත්වයා මෙච්චර දරුණු වෙන්නෙ? ප්‍රාණඝාත කරල, හොරමැර වංචා කරල, දුරාචාර කරල, බොරුවෙන් රවට්ටල, කේළමින් බිඳවල, පරුස වචනයෙන් සැඩ බවට පත් කරල, අනුන්ට නොවේවා මටම වේවා කියන්නා වූ දැඩි ලෝභයට පත් වෙලා, ඒ වගේම ඊර්ෂ්‍යාවෙන් ක්‍රෝධයෙන්, අනිකා වැනසේවා, ඔහුට අවැඩක් වේවා... ආදී වශයෙන් ද්වේශයට, දාහයට පත්වෙලා, මුලාවට පත් වෙලා, මේ ලෝකෙ වටිනාම දෙයක් හැටියට තමන්ගෙ පැවැත්මට අග්‍ර තැන දීල, තමන්ගෙ පැවැත්ම මේ ලෝකයේ පවත්වාගෙන යන්න යම් තාක් අදහස් ඇති කරගෙන මිසදිටු ගති ඇති කරගන්නව නම්, මෙන්න මේ ගති ලක්ෂණ සියල්ලටම මුල් වුනේ මොකක්ද? පංච කාම සම්පත්තිය ප්‍රධාන කරගත්ත, ලාභය - කීර්තිය - ප්‍රසංසාව පිළිබඳ බලාපොරොත්තුව.

දැන් කල්පනා කරල බලන්න ඕන, මේ දුකට හේතුව හැඩ ගැහෙන හැටි, නැත්නම් දුක්ඛ සමුදය ආර්ය සත්‍යය කොයි ආකාරයෙන්ද අපිට එන්නෙ කියල. දුකට හේතුව තණ්හාව, ආසාව කියල කිව්වට, යායං තණ්හා පෝනෝභවිකා, නන්දිරාග සහගතා, තත්‍ර තත්‍රාභිනන්දිනී, සෙය්‍යථීදං කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා කියන පාළි වාක්‍ය තුලින් මේ ටික කියවුන පළියට, අර්ථය තේරුම් ගත්තෙ නැත්නම්, උඩින් මත්තෙන් කියන වචන ටික විතරක් තේරුම් ගත්තට මේ දුක්ඛ සමුදය හෙවත් දුක්ඛ සමුදය ආර්ය සත්‍යය තෝරගන්න ඒ දැනුම මදි.

එහෙනම් මොකක්ද ඒ තණ්හා කියන්නෙ කියන කාරණය හොඳින් තේරුම් ගන්න ඕන. ඇයි ඒ තත්‍ර තත්‍රාභිනන්දනී වශයෙන් ඒ ඒ තැන බැඳෙනව කියල පෙන්නුවෙ? අපේ වචනවලින් කියනව නම්, **තන්හි (තැන්හි) හාවෙන නිසා තණ්හා කිව්වා.** මොන තන්හිද හාවුනේ? ප්‍රියයි මනාපයි යහපතයි කියල යම් කිසි දෙයක් අපි බදා ගත්තද, පංචකාම ආස්වාදය යහපතයි කියල නිගමනය කරගත්තද, ලාභ, කීර්ති, ප්‍රසංසා කියන මේ මනෝ ස්වභාවයෙන් යහපතයි කියල නිගමනය කරගෙන අන්න ඒ නිසා අපිට සිද්ධ වෙනවා, තන්හි හාවෙලා තණ්හා වෙන්න.

ඇයි එතකොට ඒ තන්හි හාවුනේ? ප්‍රිය ස්වභාවයන් ගෙන දෙන නිසාමයි. එබඳු ප්‍රිය ස්වභාවයක් ගෙනත් දුන්නෙ නැත්නම් ලෝක සත්වයා එබඳු තැන ඇළුම් කරන්නෙ නෑ. එහෙනම් ඒ ඇළුම් කිරීම කොහොමද හට ගන්නෙ? ඒක හේතුවක් නැතිව නිකම්මද හටගන්නෙ? මෙන්න මේ කාරණය හොඳින් තේරුම් ගන්න ඕන. **දුකට හේතුව හෙවත් මේ දුක් පැවැත්ම අල්ලගන්න යම් හේතුවක් තියෙනව නම්, ඒ ප්‍රිය ස්වභාවය, මධුර ස්වභාවය, ඒකෙ තියෙන වටිනවයි කියන හැඟීම, මෙන්න මේ දෘෂ්ටිය අපේ මනසෙ යම් තරමක් තැන්පත් වෙලා මනසට කාවැදිල, ඒ තුලින් අපිට අසහනකාරීත්වයක් ගොඩනැගුන නම්, අන්න ඒ අසහනකාරී තත්වය අපිම ගොඩනගා ගත්ත එකක්.** අපේම මනසින් ඇති කරගත්ත වැඩකට නැති බලාපොරොත්තුවලින් ගොඩ නගා ගත්තු එකක් නිසා මොකද වෙන්නෙ? අවිද්‍යා සහගතව හට ගත්ත බලාපොරොත්තුවලින් ගොඩ නැගිච්ච නිසා, දුකට හේතු වෙන අසහනකාරීත්වයෙන් මිදෙන්න බැරිවෙන විදිහෙ කායික මානසික පීඩනයට පත් කරන ස්වභාවයක් ඒ පුද්ගලයාට ඇතිවෙනවා. ලාභ නැත්නම්, කීර්තිය නැත්නම්, ප්‍රසංසා නැත්නම්, එන්නෙ ඒවාට විරුද්ධ දේවල් නම් ඉවසන්න බෑ, දරාගන්න බෑ. ලාභය, කීර්තිය, ප්‍රසංසාව කොච්චර වටිනවද, කොච්චර ආස්වාදජනකද කියල මෙන්න මෙහෙම අදහස්වලින් මානසිකත්වයට වද දෙන්න පටන් ගන්නවා.

ඒ වගේම පංචකාම සම්පත්තිය කොච්චර සුන්දරද, කොච්චර ආස්වාදජනකද කියල මෙහෙම පිපාසිත බවක් ඇති කරන්න පටන් ගන්නවා. අන්න ඒ පිපාසිත බව ඇති කරනව නම්, ඒ තාක් කල් අපි කොහොමද එබඳු ස්වභාවයන්ගෙන් මිදිල යන්නෙ? **දැන් අපිට හිතෙනවා, වැඩක් නැති දේවල් අත්හැරෙනව නම් කොච්චර හොඳද කියල. එහෙම ඕනකමක් තියෙනවා. හැබැයි ඕනකම තිබුන පළියට එහෙම අත්හැරෙන්නෙ නෑ.** ඒ නිසා තමන් ප්‍රිය කරන රූපයක් දැක්කොත්, බලන්නෙ නැතිව ඉන්න බෑ කියල අදහසක් එනවා. මිහිරි ශබ්ද අහන්නෙ නැතිව ඉන්න බෑ. හරි අමාරුවක්, අසහනයක්, පිපාසිත බවක් දැනෙනවා. කනට පිපාසිත බවක් දැනෙනවා. ඒ වගේම තමන් ප්‍රිය කරන සුවඳ ආඝ්‍රාණය නොකර ඉන්න බෑ, හරිම අඩු පාඩුවක් වගේ දැනෙනවා. රස ආහාරයක් නොගෙන ඉන්න බෑ. කාලෙකින් රහට කෑවෙ නෑ, හරි අමාරුයි ඉන්න, වතුරයි බතුයි වගේ කාල ජීවත් වෙලා වැඩක් නෑ... මේ ආදී වශයෙන් නොයෙක් අදහස් එනවා. මොකද රස තෘෂ්ණාව අසහනකාරී තත්වයක් ගොඩනගල ඒක ලබා දුන්නෙ නැත්නම් පිපාසිත බවක් එනවා. ඒ වගේම කායික පහස දුන්නෙ නැත්නම් පිපාසිත බවකින් පෙළෙනවා. අසහනකාරීත්වයක් ගොඩනැගෙනවා. ඒ නිසා මොකද කරන්නෙ, දදේ කහන නිසා කහනව වගේ, ලෝක සත්වයාට සිද්ධ වෙනවා අසහනකාරීත්වයට පිළිතුරු සපයන්න. හැබැයි මේ අසහනයට පිළිතුරු සපයනකොට ඒ අසහනය යළි යළි වැඩෙනව නම්, ඒක අපිට වදයක් වෙනවා.

එහෙනම් අපි දැනගන්න ඕන, බුදු පියාණන් වහන්සේ දේශනා කළේ මොකක්ද? දුක පිරි සිඳ දැනගන්න. ප්‍රිය ස්වභාවය සින්දම දුක දැනෙන හැටි මීට කලින් විග්‍රහ කරල දැනගත්තා. අනික තමයි සමුදය දුරු කරන්න පෙන්නුවා. "තං ඛෝ පනිදං දුක්ඛ සමුදයං අරිය සච්චං පහා තබ්බන්ති මේ භික්ඛවේ

පුබ්බේ අනනුස්සුතේසු ධම්මේසු චක්ඛුං උදපාදි, ඤාණං උදපාදි, පඤ්ඤා උදපාදි, විජ්ජා උදපාදි, ආලෝකෝ උදපාදි" කියල බුදු පියාණන් වහන්සේ දේශනා කළේ මොකක්ද? මේ දුක්ඛ සමුදය ආර්ය සත්‍යය දැකල මේක පහ කරල දමන්න. දුක හට ගන්න හේතුව පහ කරන්න **බැරි එකක් නම් බුදු පියාණන් වහන්සේ එහෙම දෙයක් පෙන්වන්නෙ නෑ, දේශනා කරන්නෙ නෑ. පහ කරන්න පුළුවන් නිසාමයි උන්වහන්සේත් පහ කරල අන්‍යයන්ටත් පහ කරන හැටි පෙන්නුවෙ. ඒ වගේම ඒ මග ගිහින් කෙළෙස් පහ කරගෙන සසරෙන් එතෙර වෙච්ච උත්තමයො බිහි වුනේ.**

එහෙනම් දුකට හේතුව පහ කරන්න පුළුවන් දෙයක්. එතකොට දුක පිළිබඳව මොකක්ද කිව්වෙ? ප්‍රිය ස්වභාවය සිඳල යථාර්ථයෙන් අවබෝධ වෙන දුක දැනගන්න. ඊට පස්සෙ දුක ඇති කරන හේතුව පහ කරල දමන්න. එහෙනම් දුක ඇති කරන හේතුව මොකක්ද? යම් ප්‍රිය ස්වභාවයක්, මධුර ස්වභාවයක් ඇත්ද, අන්න ඒ ප්‍රිය, මධුර ස්වභාවය තමයි දුක හට ගන්වන්න හේතු කාරක වෙන්නෙ. එහෙනම් ඒක පහ කරන්න පුළුවන් දෙයක් නම්, ඒ ප්‍රිය මධුර ස්වභාවය ඉවත් කරන්න පුළුවන් එකක් වෙන්න ඕන. එතකොට කොහොමද ඒක ඉවත් කරන්නෙ? ප්‍රිය ස්වභාවයේ, මධුර ස්වභාවයේ, පංච කාම සම්පත්තියේ තියෙන ආදීනව නිතර දකින්න පුරුදු වෙන්න ඕන.

මෙන්න මේවා දැකගෙන යනකොට මානසිකත්වයේ වෙනසක් වෙනවා. ඒක තමන්ටම දැනෙනවා. කවුරුවත් කියන්න ඕන නෑ. මෙච්චර කල් ප්‍රියයි මනාපයි කියල හිතාගෙන හිටපු මේ සුන්දර ලෝකය ගොඩ නැගිල තියෙන්නෙ මායා දර්ශනයන්ගෙන් නේද, හරියට මේ ලස්සනයි කියල ගන්න, හොඳයි හැඩයි රුවයි කියල ගන්න මේ ශරීරය නමැති ගොඩ, මේ රූප ගොඩවල් හරියට පෙණ පිඬු වගේ නේද කියල වැටහෙන්න ගන්නවා. පෙණ පිඬක් ඇතුලෙ කොහොම ස්වභාවයක්ද තියෙන්නෙ? ඇතුලෙ තියෙන පුංචි පුංචි වාත බින්දු, අර දිය බුබුළු කැටිවෙලා තියෙන දිය බින්දු මොහොතක් ගානෙ පැත්තකින් බිඳෙනවා. එහෙම බිඳි බිඳී යන ආකාරයක් පේනවා. ඒ වගේම **ශරීරය ඇතුලෙ අපිට උඩින් මත්තෙන් පේන්න තිබුනෙ නැතිවට, ගතවෙන මොහොතක් පාසා එක එක සෙලයෙන් සෙලය එක එක රූප කලාප පොදි පොදි බිඳි බිඳී යනවා, වැනසි වැනසී යනවා.** එහෙනම් රූප කියන්නෙ එහෙම වැනසෙන්නෙ නැති දෙයක් නෙවෙයි. ඒ රූපස්කන්ධවල ස්වභාවය ඒ ආකාරයෙන් දැනගන්න ඕන. **රූපය පෙණ පිඬක් වගෙයි කියන උපමාව** ඇත්තක් කියල පෙන්වා දුන්න කාරණය මේ විදිහට දවසින් දවස හොඳට හිතල බලන්න පුරුදු වෙන්න ඕන.

ඊළඟට වේදනා ස්කන්ධය. ආස්වාද එනවා, යනවා. ආයෙත් බැලුවොත් ආස්වාදයක් ඇවිත් ගෙවිල ගියා. රසයක් කටට ගන්නකොටම දැනුනා. ඉවර වෙනකොට දැනිල ඉවරයි. සුවඳක් ඉඹිනකොට දැනුනා. ඉඹල ඉවර වෙනකොට දැනිල ඉවරයි. ශබ්දයක් ඇහෙනකොට මිහිරි නාදය දැනුනා. දැනිල ඉවර වෙනකොටම නාදයත් ඉවරයි. පහසක් ශරීරයට ගන්නකොට දැනුනා. ඒ ක්‍රියාවලිය ඉවර වෙනකොට දැනෙන පහසත් ඉවරයි. එහෙනම් මේ වේදනාව සැප වේදනාව වශයෙන් ආවොත් ඒකට තමයි සත්වයා ප්‍රිය කරන්නෙ. මෙන්න මේ වේදනා ස්වභාවය මොකක්ද? දිය බුබුළක් වගේ හිතන්න කියලයි පෙන්නුවේ. හේතුවකින් මතු වුනා, කෙටි කාල මාත්‍රයක් විද්‍යමාන වුනා. විද්‍යමාන වෙලා ඇති සේ පෙනුනා, බිඳිල ගියා. අන්න එබඳු උපමා, ඇත්තක් / සත්‍යයක් හැටියට අරගෙන මේ දැනෙන වේදනාවන්ගේ ස්වභාවය සිහි කරන්න කිව්වා. මේක ඇත්තක්, විද්‍යාවක්, යථාර්ථයක්. යමක ඇත්ත වශයෙන්ම පවතින ආකාරය.

ඊළඟට සංඥා උපාදානස්කන්ධය. සංඥා කියල අපි දැනගත්ත මෙබඳු කෙනෙක්, මෙබඳු දෙයක්, මෙබඳු ප්‍රිය ස්වභාවයෙන් ඇත්තා වූ දෙයක් මේ තියෙන්නෙ, එබඳු සත්වයෙක් මේ ඉන්නෙ.. මේ ආදී වශයෙන් අපි ප්‍රියයි මනාපයි කියල ගන්න ඒවා හරියට උපමා කරල බලන්න හරවත් දෙයක්ද ඔය ආකාරයෙන් යහපතයි කියල ගත්තෙ? මේ ටික බලනකොට, අපිව රවට්ටන මිරිඟුවක් හා සමාන ස්වභාවයක් මේ සංඥාවෙ තියෙන්නෙ, ඇති සේ පෙන්වනවා, නමුත් බලනකොට මතක සටහනක් විතරයි. එබඳු දෙයක් ඒ ආකාරයෙන් විද්‍යමාන වෙනවා. නමුත් ගිහින් බලනකොට නෑ. ඒක කෙළවර වෙලා ඉවරයි. **දුර පටන් බලනකොට සුන්දරයි. ළඟට ගිහින් බලනකොට ඒකෙ පෙනිච්ච සුන්දරත්වය නෑ. කර්කෂයි.** මේ ආකාරයෙන් මේ සංඥාවේ ස්වභාවය තේරුම් ගන්න කියල පෙන්වනවා. මේවා උපමා අනුසාරයෙන් හොයන්න, හිතන්න පුරුදු වෙන්න ඕන.

ඊළඟට සංඛාර උපාදානස්කන්ධය. අපි යම් කිසි ආකාරයෙන් කරන වැඩපිළිවෙලක් තියෙනවා. මේවා යහපතයි, හොඳයි, ප්‍රියයි, මනාපයි කියල අන්න ඒ කරන වැඩපිළිවෙල තමයි සංඛාර කියන්නෙ. මේක හොඳයි කියල එබඳු ආකාරයෙන් මනෝ රූපයක් මවා ගන්නවා, මනෝ ලෝකයක් මවා ගන්නවා. එහෙම ස්වභාවයක් මවාගෙන එබඳු වන්නා වූ ස්වභාවයක ලෝකයක් ගොඩ නගා ගන්න නොයෙක් ආකාරයෙන් උත්සාහ කරනවා, වීර්ය කරනවා. එබඳු ආකාරයෙන් ක්‍රියා කරනකොට මොකක්ද සිද්ධ වෙන්නෙ? ඒවා හදාගන්න, ගොඩනගන්න වෙහෙසෙන කොට හරයක් ඇති දෙයක් මෙච්චර කාලයකට ගොඩ නගා ගන්න බැරි වුනා. අප්‍රමාණ කාලයක පටන් ලෝක සත්වයා නොයෙක් දෘෂ්ටිවලින් මතිමතාන්තර මතු කරගෙන, ආස්වාද අවස්ථාවන් සිහියට නගාගෙන, එබඳු ස්වභාවයන් ගොඩ නගාගන්න නොයෙක් ආකාරයෙන් සිතෙන්, කයෙන්, වචනයෙන් කටයුතු කරගෙන යනවා. **මොනවා මතු කරගත්තත් අන්තිමට බලනකොට හරයක් ඇති දෙයක් මතු කරගන්න පුළුවන් වෙලා නෑ.**

උපමාවක් වශයෙන් පෙන්වනවා, කෙහෙල් කොටයක් අරගෙන හරයක් බලාපොරොත්තුවෙන් පතුරු ගලවන්න ගියොත් හරයක් ලැබෙනවද කියල. පතුරෙන් පතුර ගලවගෙන ගියාම අන්තිමට බලනකොට ඇතුලෙන් අරටුවක් හම්බ වෙන්නෙ නෑ. අන්න ඒ හා සමානයි ඔය සංඛාර පොදි ගහගෙන, විවිධ අදහස්වලින් යමක් කරන්න අවශ්‍ය දේවල් රැස් කරගෙන ඒ කටයුතු කරගෙන යනව නම්. ඒක ලිහල බැලුවම මෙච්චර කල් මොනවද කරල තියෙන්නෙ? මොකක්ද ලබාගෙන තියෙන යහපත? **හිස් අතින් මැරිල ගියා මිසක් කරගත්ත දෙයක් නෑ. බලාපොරොත්තු වෙච්ච සියලු දේම කෙළවර කරල ගියා මිසක් අල්ල ගන්න දෙයක් නම් හම්බ වුනේ නෑ.** එහෙනම් මෙබඳු ස්වභාවයක් මේ සංඛාර හෙවත් හිතෙන්, කයෙන්, වචනයෙන් සකස් කරන දේවල් තුල තියෙනවා. සංඛාරවල ස්වභාවය ඒ ආකාරයෙන් තේරුම් ගන්න ඕන.

ඊළඟට විඤ්ඤාණ උපාදානස්කන්ධය. මෙබඳු වන්නා

වූ දෙයක්, මෙබඳු තත්වයක් මම දන්නවා, මෙබඳු ආකාර ස්වභාවයක් මට දැනෙනවා, මෙබඳු ආකාර වන්නා වූ බලාපොරොත්තුවක මම ඉන්නවා, මේ දේ කරගන්නයි මගේ බලාපොරොත්තුව... මේ ආකාරයේ නානා ප්‍රකාර විඤ්ඤාණ ස්වභාවයන් මතු කරගෙන ලෝක සත්වයා ඒ තුල පැවැත්ම ගෙනියනවා. අන්න ඒ ස්වභාවයෙන් ගත්තා වූ විඤ්ඤාණ ස්වභාවය හරියට විජ්ජාකාරයෙක්, මායාකාරයෙක් පෙන්වන මායා දර්ශන වගේ. හරයක් ඇති දෙයක් ඒකෙ නෑ කියල මේ ආකාරයෙන් මේ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන සත්වයෙක්, පුද්ගලයෙක්, ද්‍රව්‍යයක්, වස්තුවක් විදිහට විද්‍යමාන වෙන දේ කොටස් කරල බැලුව නම් ඔය ආකාරයෙන් විග්‍රහ වෙනවා.

මෙන්න මේ ආකාරයෙන් ඔය පංචස්කන්ධය කියන ස්කන්ධ 5 ගැන බලන්න වෙනවා. ඒ විදිහට යථාර්ථයෙන් ඒ දිහා බලනකොට, ගත යුතු හරයක් නෑ, සාර්ථකත්වයක් නෑ, අවසානයේ පරාජයක්මයි ලැබිල තියෙන්නෙ කියල දකිනවා. අපි කැමති වෙනවා යම් කිසි දෙයකට. ඒක අපේ කැමැත්ත පරිදි කරන්න දඟලනවා. නමුත් ඒකෙන් ගන්න පුළුවන් සත්‍යයක් හරයක් නෑ. **උත්සාහ වීර්ය කරල අන්තිමට දුකක් නිපදවනවා.** සංඛාර වශයෙන් දුකක් නිපදනවා. ඒ වගේම සංඛාර දුක්ඛ, දුක්ඛ දුක්ඛ වශයෙන් ඒවාට උරුම වන්නා වූ දැවීමට, තැවීමට ගෝචර වෙනවා. විපරිනාම දුක්ඛ කියන, **තමන් කැමති ආකාරයෙන් තියෙන්නෙ නැතිව පරිනාමයට පත්වෙලා වෙනස් වෙලා යනකොට තමන්ගෙ බලාපොරොත්තු සිඳී යාමෙන් දුක් වෙනවා.** මේ ආකාරයෙන් දුකට ගෝචර වන්නාවූ, දුකට හේතු වන්නාවූ ආකාරයෙන් යම් විදිහක ආස්වාදයක් තිබුනද, බැඳ ගැනීමක හිටියද, මායා ස්වභාවයක හිටියද, අන්න ඒ ස්වභාවය ප්‍රියයි මනාපයි යහපතයි කියල ගත්තා. දුක්ඛ ස්වභාවය බැඳිල තිබුනෙ යම් කිසි ඔපයකද, අන්න ඒ ඔපය ප්‍රියයි මනාපයි කියල ගත්තම අර කියන්නාවූ මහා දුක් ගොඩට වැටෙන්න අපිට සිද්ධ වෙනවා. දුක් ගොඩේ අනාථ වෙන්න සිද්ධ වෙනවා.

ඒ නිසා **මේ කියන ආස්වාද ගෙන දෙන ප්‍රිය මනාප දේවල්වල ඇත්ත ස්වභාවය දවසින් දවස මොහොතින් මොහොත සිහි කරන තරමට තමයි අසාර දේවල් කියල වැටහෙන්නෙ.** එබඳු



අසාර ලෝකයක් අල්ල ගන්න මම මොකට දුක් වෙනවද, මොකට වෙහෙස වෙනවද? මොනව බලාපොරොත්තු වෙන්නද? ඒ තුල මොනව කරන්නද? මෙන්න මේ ආකාරයෙන් වැටහෙන්න පටන් ගන්නවා. තමන්ගෙ ධර්මාවබෝධයට වැටහෙන්න පටන් ගන්නකොට දුකට හේතුව දුරු වෙනවා. අසහනකාරීත්වයෙන්, පෙළීමෙන් මිදෙන්න හේතු වෙනවා.

දැන් හොඳට තේරුම් ගන්න ඕන, අපේ හදවතෙත් එක්තරා කැලෑවක් වගේ ස්වභාවයක් තියෙන්නෙ. හදවත හෙවත් අපේ සිතිවිලිවල ස්වභාවය මොකක්ද? එහෙම නැත්නම් රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන ස්කන්ධවලින් හැදිල තියෙන මේ ශරීරය තුල, මේ මානසිකත්වය තුල, රූප කියන්නාවූ කොට්ඨාස තුල මනෝ රූප හට ගන්නවා. පංචස්කන්ධයයි කියන මේ කොටස් තුල ඇතිවෙන ස්වභාවය ගත්තම මහ කැලෑවක් හදාගත්ත වගේ අභ්‍යන්තරය අවුල් කරගෙන තියෙන්නෙ. එහෙනම් එබඳු අවුල් කර ගත්ත ඒවා තුල හරියට මේ ලෝකෙ ඉන්න සත්තු වගේ හිත ඇතුලෙත් නොයෙක් ආකාරයෙන් සත්තු හදාගෙන ඉන්නවා. සමහර සත්තු රාගය මතු කරනවා, රාග අදහස් දෙනවා. සමහර සත්තු ද්වේශය මතු කරනවා, ද්වේශ අදහස් දෙනවා. සමහර සත්තු මෝහ අදහස් දෙනවා.

මේ සත්ව උපමාවක්. හදවත නමැති කැලෑවේ මෙබඳු වන්නා වූ හදා ගත්ත නානා ප්‍රකාර සත්ව විඤ්ඤාණ තියෙනවා. සමහර විඤ්ඤාණ රෞද්‍රයි. සමහර ඒවා කාමුකයි. සමහර ඒවා ලෝභ සහගතයි, මුලා සහගතයි. නොයෙක් ආකාරයේ විඤ්ඤාණයන් හැදිල මේ විඤ්ඤාණ යම් ආහාරයකින් ජීවත් වෙන්නෙ. හදපු විඤ්ඤාණයකට, හැදුන විඤ්ඤාණයකට කවදාවත් ආහාරයක් නැතිව තනියෙන් ජීවත් වෙන්න පුළුවන්කමක් නෑ. මොකද හේතුව, යමක් හට ගත්ත නම් ඒකෙ පැවැත්මට ශක්තියක් අවශ්‍යයි. ඒ ශක්තිය දුන්නෙ නැත්නම් ඒ පැවැත්ම ඒ විදිහට පවතින්නෙ නෑ.

එහෙනම් මේ ස්වභාවය බාහිර දේවල්වලට විතරක් නෙවෙයි, හිත අභ්‍යන්තර දේවල්වලටත් උරුමයි. එහෙනම් අභ්‍යන්තරයේ රාග හිතක් නිකං හට ගන්නෙ නෑ. ද්වේශ හිත්, මෝහ හිත්, ඒ වගේම ඒවාට අදාළ විඤ්ඤාණ නිකං හට ගත්ත නෙවෙයි. යම් කාලයක් මේ ලෝකෙ ඇසුරු කරල, ඒවායේ අත්දැකීම්වලින් පෝෂණය වෙලා ලැබුනා වූ ආස්වාදයන්ට ගිජු වෙලා, එබඳු දේ පිළිබඳව මතු මතුත් බලාපොරොත්තු ඇති කරගෙන, එබඳු ඇති කරගත්තා වූ ක්‍රියා සටහනකින්, ක්‍රියා කලාපයකින් තමයි ක්‍රමයෙන් අර කියන්නා වූ අවිද්‍යා සහගත මානසිකත්වය තුල ඒ විඤ්ඤාණ කියන අවස්ථා ඇති කරගත්තෙ. එහෙනම් මේවා හැම තිස්සෙම බලාපොරොත්තු වෙනවා. යමකින් ගොඩ නැගුවද, ඒ ඒ දේවල් මට දීපං, ආහාර වශයෙන් දීපං කියන අදහසක් මනස තුලින්ම ඇති කරවල මනසට දැනුම් දෙනවා. ඒ නිසා ලෝක සත්වයාට, මන වඩන රූප බලපන්, මන වඩන ශබ්ද අහල ආස්වාද ගනින්, මන වඩන ගන්ධය ආඝ්‍රාණය කරල ආස්වාද ගනින්... මේ ආකාරයෙන් මනසින් අදහස් දෙනවා.

මොනවද මේ දෙන්නෙ? හට ගත්තා වූ විඤ්ඤාණ, ආස්වාද නමැති ආහාර ඉල්ලනවා. එහෙනම් ආස්වාදයෙන් ගොඩනැගිච්ච විඤ්ඤාණවලට යම් විදිහකින් ආහාර නොදුන්න නම් මොකද වෙන්නෙ? ආහාර නැති තැන විඤ්ඤාණයට ජීවත් වෙන්න බෑ, මැරිල යනවා. එහෙනම් මනස තුලම ජීවත් වෙන්නා වූ පණ තියෙන ඒ විඤ්ඤාණ ස්වභාවයන් අපේ ළඟ ජීවත් වෙලා ඉන්න කල් වද දෙනව වගේ අදහස් දෙන්න පටන් ගන්නවා. මෙබඳු ආස්වාද ලබපං, මොන

අසාධාරණයක්වත් බලන්න එපා... දැඩි වෙච්ච තරමට එහෙම හිතනවා. මොන සාධාරණ, අසාධාරණද ඒවා පැත්තකින් තියල ආස්වාදය ගනින්, කොහොම හරි මේ ආස්වාදය ජය ගනින්, වෙන දෙයක් පස්සෙ වෙච්චාවෙ, දැන් කරගනින්... කියන මෙබඳු ආකාරයෙන් මානසිකත්වය දැඩි වුන තරමට මනසට වද දෙන්න පටන් ගන්නවා, අදහස් දෙන්න පටන් ගන්නවා.

මෙන්න මේ නිසා ලෝක සත්වයාට මේවා කරන්න එපා, පව් කිය කියා හිටියට ඒවා අත්හරින්න විදිහක් නෑ. මොකද ආස්වාද ඒ තරම් බලවත්. ආස්වාදය ජය අරගෙන ඒ මානසිකත්වය පරාජය කරනවා, යට කරනවා. එහෙනම් මෙන්න මේවා ජීවත් වෙන්නෙ ආහාරයකින් කියල තේරුම් ගත යුතුයි. ආහාරයක් නැත්නම් විඤ්ඤාණයට ජීවත් වෙන්න බෑ. එහෙනම් විඤ්ඤාණය මොනවද ආහාර කරගන්නෙ? අනුකූල වන්නා වූ දහම් ස්පර්ශ කරල, ඇහෙන් රූප ස්පර්ශ, කනෙන් ශබ්ද, නාසයෙන් ගන්ධ, දිවෙන් රස, කයෙන් පොට්ඨබ්බ, මනසින් ධර්ම ස්පර්ශ කරල, මේ ආදී වන්නා වූ ස්පර්ශ මුල් කරගෙන මේ විඤ්ඤාණ ආහාර ලබාගෙන ඒ තුලින් විඤ්ඤාණ මැරෙන්නෙ නැතිව තියෙනවා. එහෙනම් විඤ්ඤාණ මැරුවොත් මොකද වෙන්නෙ? අපිට බේරුමක් ලැබෙනවා. අසහනකාරීත්වයෙන් මිදෙන්න අවශ්‍ය පසුතලය හැදෙනවා.

එහෙනම් විඤ්ඤාණ මරා ගැනීම අප විසින් තේරුම් අරගෙන කරන්න ඕන වැඩක්. ඉතින් ඇස, කන, නාසය, දිව, කය කියන මේ ඉන්ද්‍රියන් සංවර කර ගත්ත නම් බොහොම අමාරුවෙන් සුළු කාලයයි ඉන්න ඕන. දැන් ඇත්ත දැකල ඉන්නෙ. හට ගත්ත දෙයක් තියෙනව නම් කැමති සේ පවතින්නෙ නෑ. එහෙම ස්වභාවයක් නම් තියෙන්නෙ ඒ නිසා දුකමයි හට ගන්නෙ. ඒ නිසා දුක් වෙනවා. ඒ වගේ දේවල් පස්සෙ යනව නම් ඒක අනාථ ගමනක්. මොනවට යනවද? එබඳු වන්නා වූ ගමනෙන්, මේ ගමනට හේතු වන්නාවූ තණ්හාව හට ගන්වන අසහනකාරීත්වයෙන් මිදුන නම්, මොන තණ්හාවක් ඉතුරු වෙන්නද? මොන බලාපොරොත්තුවක් ඉතුරු වෙන්නද?

එහෙනම් මොකද කරන්න ඕන? මෙන්න මේ අසහනකාරීත්වය ඇති කරන මග හොයල අන්න ඒකෙන් මිදෙන්න ඕන කියල දැනගත්ත දවසට, ඒ පුද්ගලයට පුළුවන්කමක් ලැබෙනවා, අර විඤ්ඤාණ නමැති අභ්‍යන්තර වන්නාවූ ඒ මානසිකත්වය තුල ඒ ඒ ස්වභාවයන්, ඒ ඒ බලාපොරොත්තු පවතිනව නම්, අන්න ඒ පැවැත්මට හේතු කාරක වෙන, ඒවා පෝෂණය කරන අදහස් නොදී ඉන්න. ඒවාට අදහස් නොඑන්න නම් මොනවද කරන්න ඕන? රාග අදහස් අත්හැරල, ද්වේශ, මෝහ අදහස් අත්හැරල යම් මොහොතක්, යම් කාලයක්, උත්සාහයෙන් වීර්යෙන් යුක්තව හික්මෙන්න පටන් ගත්ත නම්, ඒ තැනැත්තා නිකම්ම නෙවෙයි හික්මෙන්නෙ, කරුණු යථාර්ථවත්ව දැනගෙන. උත්සාහයෙන් හෝ වීර්යෙන් හෝ මේ ආකාරය අත්හැරල දැම්මොත්, මේ කෙළවරක් නැතිව වද දිදී පස්සෙන් එන විඤ්ඤාණ මැරිල යනවා. විඤ්ඤාණ නිරෝධ වුනා නම් නාම රූප නිරෝධයි. ඒ කියන්නෙ විඤ්ඤාණ නැතිවෙලා ගිය ගමන්ම නැවතත් ඒ හිතක් තුල බහින්න විදිහක් නෑ. ඒ ආකාරයේ හැඟීම් බහින්න විදිහක් නෑ. මොකද ඒ බලාපොරොත්තුව අත්හැරල ගියා නම් එබඳු විඤ්ඤාණයක් නැති තැන හිත කියන එක "ප්‍රභාස්වර මිදං භික්ඛවේ චිත්තං" කියන චිත්ත ස්වභාවයට පත්වෙන නිසා කොහොමටත් රාග, ද්වේශ නැගෙන්නෙ නෑ. ආගන්තුක උපක්ලේශ වශයෙන් හදා ගත්ත ඒ විඤ්ඤාණ කියන අවස්ථාවට කහට ගන්න ගත්තා වූ ඒ ස්වභාවය මතු වෙනකොට තමයි ඔය කියන්නා වූ දුශ්චරිත දේවල් ඉල්ලන්නෙ. ඒ වගේම හැඟීම් මතු කරවන්නෙ. බලාපොරොත්තු ඇති කරවන්නෙ. ලෝකයේ පැවැත්ම සඳහා අසහනකාරීත්වයක් ඇති කරවන්නෙ.

එබඳු වන්නා වූ විඤ්ඤාණ ක්‍රියාත්මක කරන්නෙ මොකකින්ද? ඔය කියන්නා වූ විඤ්ඤාණවලින් බලවත් වෙලා තියෙන විඤ්ඤාණවල ස්වභාවය නිසා කාම අදහස් ඉල්ලනව නම්, ඒකට මූලික හේතුව වශයෙන් දැනගත්ත විඤ්ඤාණ මරා දමන්න නම්, විඤ්ඤාණ නිරෝධ කරන්න නම් මොකක්ද කරන්න ඕන? සංඛාර පච්චයා විඤ්ඤාණං කියල පෙන්වපු මේ සංඛාර ප්‍රත්‍යයෙන් හට ගත්ත විඤ්ඤාණයක් ඇත්නම්, සංඛාර නිරෝධා විඤ්ඤාණ නිරෝධෝ කියන තැනට පත් කරන්න ඕන. එහෙනම් ඒ විඤ්ඤාණ නිරෝධ කරන්න නම් මොකක්ද කරන්න ඕන? මේ විඤ්ඤාණ පවතින්නෙ, පහල වෙන්නෙ සංඛාර ආහාර කරගෙන නම්, සංඛාර නිරෝධ කළොත් විඤ්ඤාණයට නැගෙන්න විදිහක් නෑ. නිරෝධ වෙනවා. එහෙනම් ඒ මානසිකත්වය තුල සැරිසරන්න විදිහක් නෑ. එහෙනම් චිත්ත එකක්, මනෝ එකක්, විඤ්ඤාණ එකක්... මේ ආදී වශයෙන් විග්‍රහ කරල තේරුම් ගන්න ඕන. ආගන්තුක උපක්ලේශයන්ගෙන් කිළිටි ගැන්වුන තරමටයි මේ ආකාරයෙන් චිත්ත කියන අවස්ථාව ඉක්මවා ගිහින් ඔය ආකාරයෙන් මනෝ විඤ්ඤාණ කියන අවස්ථාවට එන්නෙ. නව අවස්ථාවක් තුල කහට ගැන්විලා එන්න එන්න, ආගන්තුක උපක්ලේශයන්ගෙන් කිළිටි ගැන්විලා නව අවස්ථාවකදි විඤ්ඤාණස්කන්ධයට එකතු වෙනවා.

මේකෙන් දැනගන්න ඕන, චිත්ත - මනෝ - මානසං - හදයං - පණ්ඩරං - මනෝ මනායතනං - මනින්ද්‍රියන් - විඤ්ඤාණං - විඤ්ඤාණ ස්කන්ධෝ කියන තැනට වෙනකල් මේ චිත්තයක් ඉතාම සුළු මොහොතකදි පවා කහට ගැන්වෙන ධර්ම ස්වභාවයක් තියෙනවා. මේක චිත්ත විද්‍යාවක්, අභිධර්මය තුල ඉතාම පැහැදිලිව පෙන්වා තියෙනවා. ඒ නිසා මේ විඤ්ඤාණ කියන අවස්ථාවට කහට ගැන්විච්ච එක නැවත සුද්ධ කරනකොට මොකද වෙන්නෙ, ඒකට අවශ්‍ය කරන්නාවූ සංඛාර නොකර ඉන්නවා. එහෙනම් මොනවද නොකර ඉන්නෙ? අපිට වරදක් වෙන්නෙ අවිද්‍යා සහගත සංඛාරවලින්, අවිද්‍යා සහගත විඤ්ඤාණවලින්. අවිද්‍යා සහගත විඤ්ඤාණ නිපද වෙන්නෙ අවිද්‍යා සහගත සංඛාර ආහාර කරගෙන.

මේකෙන් තේරුම් ගන්න ඕන, තණ්හාවෙන් ආසාවෙන් බැඳෙන අදහස්වලට ඉඩ නොදී ඇස, කන, නාසය, දිව, කය, මන සංවර කළා නම් අන්න ඒ අවස්ථාවෙදි ආහාර තුනී වෙලා විඤ්ඤාණ දුබල වෙන්න පටන් ගන්නවා. එහෙම ගිහින් විඤ්ඤාණ නිරෝධ වුනාට පස්සෙ, කවදාවත් ලෝකයෙන් කිසිම කරදරයක්, අසහනකාරී මානසිකත්වයක් ගොඩ නැගෙන්නෙ නැති වුනාම, ඉතා පහසුවෙන් රාගය වැඩෙන්නා වූ ස්වභාවයෙන් වෙන් වෙන්න පුළුවන් වෙනවා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# "මරණින් මතු උපතක් නැත" යන භෞතිකවාදී දෘෂ්ටිය බිඳින අයුරු...

සමාජය අධ්‍යාත්මික වශයෙන් පිරිහෙන්න පිරිහෙන්න, පින් පව් විස්වාස නොකරන, කර්ම ඵල විස්වාස නොකරන, ඒ පිළිබඳව නැණ නුවණින් විමසා නොබලන භෞතිකවාදී අදහස් දරන පිරිස් වැඩි වෙනවා. විශේෂයෙන් පසුගිය කාල වකවානුව වෙනකොට අධ්‍යාත්මික ශක්තියෙන් හීන, ඒ මාර්ගය නොවඩන නාම මාත්‍රික පිරිස් බිහි වීමේ ප්‍රතිඵලයක් විදිහට, නොපෙනෙන ලෝක දකින්න පුළුවන්, දිවැස් දිවකන් පහල කර ගත්ත, නැණ නුවණ තියෙන උතුමන්ගේ අඩුවක් දකින්න ලැබුනා. ඒ හේතුවෙන්ම පංචේන්ද්‍රියන්ට ගෝචර නොවන දේවල් ඔප්පු කරන්න බැරි වීම නිසා, විසාල පිරිසක් මෙලොව පරලොව පින් පව් විස්වාස නොකරන තත්වයට පත් වුනා.

කොටින්ම කියනව නම්, දස වස්තුක මිත්‍යා දෘෂ්ටියේ එල්බගෙන කටයුතු කරන්න පටන් ගත්තා. ඒ මිත්‍යා දෘෂ්ටි 10 න් සියල්ලම නැතත් එකක් හෝ කිහිපයක එල්බ ගත්ත අය හිටියා. මතු පිටින් නොපෙනුනත් කතාබහ කරල බලනකොට අදටත් ඒ වගේ අය අඩුවක් නැතිව ඉන්නවා. ඒක තමයි නියත මිත්‍යා දෘෂ්ටිය බවට පත්වෙන්නෙත්. ඒක ආනන්තරීය පාප කර්මවලටත් වඩා බරපතලයි. මොකද ඒ දෘෂ්ටියේ එල්බගෙන ඉඳල කටයුතු කළොත්, අනෙක් පිරිස් ඒ සඳහා පෙළඹෙව්වොත්, ඒකෙ විපාක විදිහට, ලෝක විනාසයටත් විනාස නොවන, මහා ඝන අන්ධකාරය තියෙන ලෝකාන්තරික නරකයේ පවා ඉපදෙන්න පුළුවන්. ගියොත් ආයෙ ලේසියෙන් ගැලවීමක් නෑ.

දැන් මේ මිත්‍යා දෘෂ්ටි දහයෙන් වර්තමානයේ දකින්න ලැබෙන ප්‍රධාන දෘෂ්ටියක් තමයි මරණින් මතු නැවත උපතක් නෑ කියන දෘෂ්ටිය. විශේෂයෙන් අද දියුණුයි කියන සමාජයේ සම්මත සමහර උගත් පිරිස් පවා, මේ ජීවිතය මෙතැනින් ඉවරයි, නැවත උපතක් නෑ, සියල්ල ඉවරයි කියන දෘෂ්ටියේ එල්බගෙන කටයුතු කරනවා. ඒ අය දිවැස්, දිවකන්, කර්ම ඵල, නොපෙනෙන ලෝක... ආදිය විස්වාස නොකරන නිසා, භෞතිකව ඔප්පු කරල පෙන්නුවොත් මිසක් නැත්නම් ඒ කාරණය පිළිගන්නෙ නෑ කියන මතයේ තමයි ඉන්නෙ. **පුදුමය කියන්නෙ, අපි අතර ඉන්න සමහර ලෝක සම්මත උගත් බෞද්ධයො කියන අය පවා මේ ජීවිතය මෙතැනින් ඉවරයි, ආයෙ උපතක් නෑ, ඔප්පු කරල පෙන්වනකල් අපි නම් ඕව පිළිගන්නෙ නෑ කියන මතය දරනවා.**

මෙන්න මේ කාරණය මුල් කරගෙන, මරණින් මතු උපතක් නෑ කියන භෞතිකවාදී අදහස් දරන අය කවුරුවත්, දිවැස් දිවකන්වලින් බලල කිව්ව කියල හෝ නැණ නුවණට ගෝචරයි කිව්ව කියල හෝ දහමේ සඳහන් වුන පළියට හෝ පිළිගන්න සූදානම් නැති නිසා, ඒ අයගේ ඒ දෘෂ්ටිය, මතය බිඳින්න සරල උදාහරණයකින් කරුණු පහදන්න පුළුවන්ද කියල මීට අවුරුදු 3 කට පෙර වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගෙන් අහපු ප්‍රශ්නයකට උන්වහන්සේ දුන්න පිළිතුරක් ඇසුරෙන් තමයි මේ කෙටි විග්‍රහය කරන්නෙ. හැබැයි මේ කාරණය තේරුම් ගන්නත් යම් කිසි නැණ නුවණක් තියෙන්න ඕන. එහෙම නැති අයට මේ කාරණය තේරුම් ගන්නත් බෑ. කොහොම වුනත් ඉදිරියේදී බිහි වෙන එවැනි අය මේ වගේ දෘෂ්ටිගත නොවෙන්නත්, අද ඉන්න භෞතිකවාදී අදහස් දරන අය බොහොමයක් ලෝක සම්මතයේ යම් කිසි දැන උගත්කමක් තියෙන අය නිසා, ඒ අය අතරිනුත් හේතු වාසනා තියෙන අයට යම් කිසි විදිහකින් තමන්ගෙ දෘෂ්ටිය බිඳගෙන හරි මාර්ගයට අවතීර්ණ වෙන්නත් පුළුවන් වෙයි කියන අදහසින් තමයි මේ කෙටි පැහැදිලි කිරීම කරන්නෙ.

මෙතැනදි කෙනෙක් මැරුනට පස්සෙ නැවත උපතක් නෑ, මෙතැනින් ඉවරයි කියන කාරණය ඒ අය කියන්නෙ, මරණින් පසු ඒ අයගෙ පංචේන්ද්‍රියන්ට ගෝචර වෙන දෙයක් සිද්ධ වෙන්නෙ නැති නිසා. එහෙම දෙයක් පේන්නෙ නැති නිසා. ඒ කියන්නෙ කෙනෙක් ඉපදුනා, ජීවත් වෙලා හිටියා, මැරුණා, අවසන් කටයුතු කළා, ශරීරය පොළවට පස් වෙලා ගියා... කියන මේ කාරණා ටික විතරයි මස් ලේ ඇහැට කනට පේන්නෙ, ඇහෙන්නෙ. ඉතින් ඒ අය පිළිගන්නෙ මේ භෞතික පංචේන්ද්‍රියන්ට ගෝචර වෙන කොටස විතරක් නිසා, ඒවාට ගෝචර වෙන්නෙත් ඒ කාරණා ටික විතරක් නිසාත්, එයින් එහාට දෙයක් පිළිගන්න සූදානම් නෑ.

හැබැයි මේ මරණින් මතු උපතක් පිළිගන්නෙ නැති බොහොමයක් අය භෞතික විද්‍යාව පිළිගන්න නිසා, ප්‍රධානම කාරණය තමයි **මේ සියල්ලේම ශක්ති ප්‍රභවය හොයාගන්න කියන අභියෝගය. එතකොට සූර්යා කියන්නෙ ශක්ති කෝෂයක් මිසක්**

**ශක්ති ප්‍රභවය නෙවෙයි. ඒ කාරණයත් දැන් පිළිඅරගෙන තියෙනවා. ශක්ති ප්‍රභවය තමයි යමක ආරම්භය. ලෝකයේ යම් කිසි දෙයක් මූලාරම්භ කරනකොට හිතල මිසක් ශක්ති කෝෂයකින් කරන්න බෑ. හිතීමෙන් හැර ඉබේ සිද්ධ වෙන / ස්වභාවිකව සිද්ධ වෙන ඒවා පෙර හේතුවල ඵල. එතකොට ඒවා ශක්ති ප්‍රභවයන් විදිහට ගණන් ගන්න බෑ.** ශක්ති කෝෂයකින් නිදහස් කරන ශක්තිය නිසා යමක් චලනය වෙන්න පුළුවන්. එහෙම නැතිව චලනයක් කරන්න පුළුවන් හිතකට විතරයි. බාහිර ආධාරයක් නැතිව හිතෙන් විතරයි යමක් චලනය කරන්න පුළුවන්. අතින් චලනය කළත් ඒකත් බාහිර ආධාරයක්. හැබැයි ඒකටත් හිත මුල් වෙනවා. යම් කිසි උපකරණයකින් කළා කිව්වත්, මනුස්සයගෙ හිත මුල් වෙලා තමයි ඒකත් පාලනය වෙන්නෙ. ඒ උපකරණය නිපදවන්නෙත් මනුස්සයා විසින් හිත මෙහෙයවල. දැන් අපි මේ පරිහරණය කරන භාණ්ඩ, උපකරණ සියල්ලමත් එහෙමයි. ඒ නිසා ශක්ති ප්‍රභවය තමයි හිත. ඒ කියන්නෙ ශක්තිය උප්පාදනය කරන තැන, ශක්තියේ නිර්මාණකරු තමයි හිත. ඒ කාරණය ඔප්පු වෙනවා.

යම් කෙනෙකුට හිතක් තියේ නම් ඒ පුද්ගලයගෙ බලාපොරොත්තුවක් තියෙනවා ඉදිරියටත් ඉන්න, ජීවත් වෙන්න. ඒ නිසා ඒකාන්තයෙන්ම ඒ පුද්ගලයගෙ ඉඳීම / පැවැත්ම සඳහා හිත ක්‍රියාත්මක වෙනවා. සියලු සත්වයන්ටම ඒක එහෙමයි. එතකොට **හිත තියෙන්නෙ තවදුරටත් ඉන්න නම්, ජීවත් වෙන්න නම්, ජීවත් වෙනව කියන්නෙ මොකක්ද? ඇහෙන් රූප බලන්න, කනෙන් ශබ්ද අහන්න, නාසයෙන් ගඳ සුවඳ ආඝ්‍රාණය කරන්න, දිවෙන් රස බලන්න, කයෙන් පහස විඳින්න, හිතෙන් හිතන්න කියන මේ ටිකට.** මේ ටික තමයි හැමෝම කරන්නෙ. එයින් එහාට දෙයක් නෑ. අරූප බ්‍රහ්ම ලෝකවල ඉපදුනාම මේ හයෙන් හිත විතරක් තියෙනවා. අසඤ්ඤ කියන බ්‍රහ්ම ලෝකයේ මේවා නැති වෙන්නෙ තාවකාලිකව විතරයි. ඒකෙ ආයු කාලය ඉවර වෙනකල් සංඥාවක් නැතිව හිත තියෙනවා. නමුත් හිත ක්‍රියාත්මක නෑ, අක්‍රියයි. වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ කියන නාමස්කන්ධය ක්‍රියාත්මක වෙන්නෙ නැති නිසා දැනීම් හැඳිනීම් නෑ. රූපස්කන්ධය විතරක් කර්ම ශක්තියෙන් ක්‍රියාත්මක වෙනවා. ඒ හැර සතර අපාය, මිනිස් ලොව, දෙව් ලොව ඇතුළු සියලු කාම ලෝකවල සත්වයෝ මේ පංචකාමය තමයි අඩු වැඩි වශයෙන් භුක්ති විඳගෙන ඉන්නෙ.

ඉතින් මෙන්න මේ ටික කරගෙන ඉන්න කෙනෙක් ආසා කරනව නම්, ඒ පුද්ගලයා හිතෙන් බලාපොරොත්තු වෙනවා. බලාපොරොත්තුවක් තියේ නම් ඒ බලාපොරොත්තුවට අනුව හිතෙන් ශක්තියක් නිකුත් කරනවා. ඒක තමයි ශක්තිය නිකුත් කරන ශක්ති ප්‍රභවය. එතකොට ශක්තියක් නිකුත් කළොත් තවදුරටත් පවතිනවා. මේ ජීවිතය ඉවර වුනත් තවත් එකක් ඒ ශක්තියෙන් නිර්මාණය කරනවා. ඉවර නෑ. භෞතිකවාදීන්ගෙ වුනත් ඒ බලාපොරොත්තුව තියෙනවා. ඒක නැතිවෙන්නෙ නෑ. මරණින් මතු උපතක් නෑ කියන කාරණය වෙනම කතාවක්. ඒක ඒ අයගෙ මතයක්. නමුත් ඒ අයත් බලන්න, අහන්න, සුවඳ ආඝ්‍රාණය කරන්න, රස විඳින්න... ආදී වශයෙන් පංචකාම සම්පත් භුක්ති විඳින්න බලාපොරොත්තු වෙනවා. ඒක කාටවත් නැහැයි කියන්න බෑ. අන්න ඒ විදිහට ප්‍රශ්න කළොත්, මරණින් කෙළවර වෙන්නෙ නෑ කියන කාරණය ඔප්පු වෙනවා.

දැන් මේ සම්බන්ධයෙන් අපි හැමෝටම වගේ අත්දකින්න පුළුවන් කාරණයක් තියෙනවා. මේ සමාජයේ වහ බීල මැරෙන්න යන අය අපි ඕන තරම් දැකල තියෙනවා. කෙනෙක් වහ බිව්ව කියල එක පාරටම මැරෙන්නෙ නෑ. රෝහල්ගත කරලත් පැය ගණනක්, සමහරවිට දවස් ගණනක් ඉඳල තමයි මැරෙන්නෙ. වහ බිව්ව හැමෝගෙම සිහි නැතිවෙන්නෙත් නෑ. හොඳට සිහි කල්පනාව තියෙන අයත් ඉන්නවා. හැබැයි බොහොමයක් අය වහ බොන්නෙ, කාගෙන් හරි පළිගන්න, එක්කො තමන්ට ආපු වේදනාවක් දරාගන්න බැරිව ඒකෙන් මිදෙන්න, මේ ජීවිතය මෙතැනින් ඉවරයි කියල හිතාගෙන. උපතක් ගැන බලාපොරොත්තුවක් තිබිල එහෙම දෙයක් දැනගෙන නෙවෙයි. වහ බිව්වම මැරෙන නිසා එතැනින් පස්සෙ ඔක්කොම ඉවරයි කියල හිතනවා. නමුත් තමන් ඒ ගැන නොදැන හිටියට බලාපොරොත්තු අත්හැරිල නෑ. ඒ නිසා තමයි, **කෙනෙක් වහ බීල මැරෙන්න ගියත්, ඒ මැරෙන මොහොතෙ හරි බලනවා කවුද ළඟ ඉන්නෙ, කවුද බලන්න ආවෙ කියල. අනෙක් අය කතා වෙන්නෙ මොනවද කියල සවන් දෙනවා. තව කෙනෙක් කියන ඒවා අහන්න කැමතියි. ඒ විදිහට පංචේන්ද්‍රියන්ගෙන් අරමුණු ගන්න කැමතියි. ඒ කියන්නෙ තවමත් ලෝකය පිළිබඳ බලාපොරොත්තු තියෙනවා. හිතින් හිතනවා. ඒ දේට කැමතියි.** කැමැත්තක් එනවයි කියන්නෙ තවත් උපතක් පහල වෙනවා. ඒ කියන්නෙ හිතක් පහල වෙනවා. හිතක් පහල වෙනව නම්, හිත තමයි ශක්ති ප්‍රභවය කියල ඔප්පු වෙලා ඉවරයි. හිතට යමක් කරන්න පුළුවන්. යමක් නොහිතා (හිතන්නෙ නැතිව) කරන්න බෑ. යමක් හිතන්නෙ නැතිව සිද්ධ වෙනව නම් ඒක පෙර හේතුවක ඵලයක්. ඒ කියන්නෙ යම් කිසි ශක්ති කෝෂයකින් නිකුත් කරන ශක්තියක් නිසා සිද්ධ වෙන දෙයක්.

උදාහරණයක් විදිහට විදුලි පංකාවක් කරකවන්න පුළුවන් බාහිරින් ශක්තියක් දීල. ඒ ශක්තිය විදුලි පංකාවට තනියෙන් නිර්මාණය කරගන්න බෑ. තවත් උපාංග එකතු කරල නිර්මාණය කරල දෙන්න ඕන. එතකොට තමයි ඒක ක්‍රියාත්මක වෙන්නෙ. ඒකට ඕන නම් කෙනෙකුට බාධා කරන්නත් පුළුවන්. එහෙම නැත්නම් ස්වභාවිකව බාධා වෙන්න පුළුවන්. විදුලිය ඇණ හිටියොත්, රැහැනක් පිච්චිලා ගියොත් විදුලි පංකාව නවතිනවා. නමුත් හිතක් එහෙම නෑ. හිත විසින්ම ශක්තිය නිර්මාණය කරනවා. ඒකට කාගෙවත් ආධාරයක්, උපකාරයක් ඕන නෑ. උපන් හැටියෙ පොඩි එකාට වුනත් ඒක එහෙමයි. **ඕනම කෙනෙක්ගෙ හිතීමේ ක්‍රියාවලියට කාටවත් බාධා කරන්න බෑ, කාගෙවත් ආධාරයක් ඕන නෑ. ඒක අපි හැමෝම දන්න දෙයක්. ඒක තමයි හිතක තියෙන විශේෂත්වය. සත්වයෙකුට එහෙම දේකට තියෙන්නෙ හිත විතරයි.** බිම යන කූඹියට පවා එහෙම හිතන්න පුළුවන් ශක්තියක් තියෙනවා. ඒ අනුව තමයි පේළි ගැහිල කෑම හොයන්න යන්න, ගුල් හදන්න යන්න වුනත් ක්‍රියාත්මක වෙන්නෙ. පෙර අපර බලන්න හැකියාවක් නැති වුනාට ඊළඟට කරන්න ඕන දේ තීරණය වෙන්නෙ, ඒ එන අරමුණ අනුව හිතල.

ඊට අමතරව යම් කිසි සමාධියක්, දිවැසක් තියෙන කෙනෙකුට නම් පෙරත් ජීවත් වෙලා හිටියා, මතුත් ජීවත් වෙනවා කියන කාරණය ප්‍රත්‍යක්ෂයෙන්ම බලන්න පුළුවන්. සමාධියක්, දිවැසක් නැතත් නැණ නුවණක් තියෙන කෙනෙකුට වුනත් ඒ කාරණය අනුමානයෙන්, නැණ නුවණින් හිතාගන්න පුළුවන්. දැන් අපි දන්නවා, අද කියල දවසක් තියෙනවා. අපි අද ජීවත් වෙනවා. ඒ වගේම ඊයෙත් ජීවත් වෙලා හිටියා. ඊයෙ සිද්ධ වෙච්ච දේවල් මතකයි. පෙරවිදත්

**"මරණින් මතු උපතක් නැත"**
**යන භෞතිකවාදී දෘෂ්ටිය බිඳින අයුරු...**

හිටියා. ඒකත් මතකයි. කරපු කියපු දේවල් මතකයි. පළමුදාත් හිටිය කියල හොඳට මතකයි. ඔය විදිහට ආපස්සට ගිහින් මීට මාසයකට, අවුරුද්දකට පෙරත් තමන් හිටිය කියල දන්නවා. ඒ මතකය තියෙනවා. තවත් ආපස්සට ගියාම තමන්ගෙ අවුරුදු 5 - 6 වගේ පුංචි කාලෙත් මතකයි. එදා තමන් මෙහෙම පුංචි දරුවෙක් වශයෙන් හිටිය කියල මතකයේ තියෙනවා. ඒ කාලෙ ගත්ත ඡායාරූප තියෙනවා.

තවත් ආපස්සට යනකොට ඉපදිලා මාස ගණනක අතීතය තමන්ට මතක නෑ. හැබැයි මතක නෑ කියල ඒ කාලෙ හිටියෙ නැත්ද? හිටියා. අම්ම තාත්ත සාක්ෂි දරනවා. වටේ හිටපු අය සාක්ෂි දරනවා. ඊළඟට මව් කුසෙත් මාස 9 - 10 ක් හිටියා. මතක නැතත් හිටිය කියල පිළිගන්නවා. අම්ම තාත්තත් පිළිගන්නවා, වෛද්‍යවරුත් පිළිගන්නවා. හොඳයි, **මව් කුසට එන්න පෙර කොහෙද හිටියෙ කියල ඇහුවොත් ඒක මතක නෑ. අම්ම තාත්ත දන්නෙත් නෑ. දිවැසක්, සමාධියක් නැත්නම් ඒක සිහි කරන්න බෑ. නමුත් සිහි කරන්න බෑ කියල කොහෙවත් හිටියෙ නැත්ද? එක පාරටම අහඹු ලෙස මව් කුසින් පහල වුනාද? කොහේ ඉඳන්ද ආවෙ? එහෙම අහේතුකව සතෙක් පහල වෙන ක්‍රමයක් නෑ.** හේතුවක් නැතිව සිද්ධ වෙන කිසිම දෙයක් නෑ. එහෙම කිව්වොත් ඒක අහේතුකයි. ඒ හේතුව නවීන විද්‍යාවට හොයාගන්න බැරි එක වෙනම කාරණයක්.

**එහෙනම් සිතක් නැතිව සතෙක් හට ගන්න විදිහක් නෑ. සිතක් තියෙනව නම් ඒ සිතත් සමග බැඳුන ඝන හෝ සියුම් හෝ කයක් තිබිය යුතුයි. මීට පෙර තිබිච්ච අත්බවයක් කෙළවර කරල ඒකට හිමි ආයුස ගෙවිල, ඒත් අර කලින් කිව්ව වගේ තවදුරටත් මේ ලෝකෙ පංච කාම සම්පත්තිය භුක්ති විඳින බලාපොරොත්තුව හෝ ඒ බලාපොරොත්තුව යටපත් වෙලා තිබුනත් ජීවිත ආසාව හෝ තිබුන නිසා තමයි තවත් එකක් හොයාගෙන යන්නෙ. එදා එහෙම හිතක් පහල වුනේ නැත්නම් අද තමන්ට මෙහෙම කයක් පහල වෙන්න විදිහක් නෑ. මේ කාරණය දිවැසකින්, සමාධියකින් නොදැක්කත් විද්‍යානුකූල ඥාන ගෝචර කතාවක්.**

දැන් ඔය විදිහට ආපස්සට බැලුව වගේ ඉදිරියටත් බලන්න පුළුවන්. අපි මේ හැමෝම දන්නවා හෙට කියල දවසක් එන බව. අපි විවිධ අයට



පොරොන්දු වෙනවා, අපි හෙට මෙහෙම මුණගැහෙමු, මම ඒක හෙට කරල දෙන්නම් කියල. ඒ කියන්නෙ හෙටක් ගැන බලාපොරොත්තු තියෙනවා. හැබැයි තවම හෙට ආවෙ නෑ. නමුත් එන බව දන්නවා. ඒ වගේම අනිද්දා, ඉන් අනිද්දා කියල දවසක් එනවා. තවම ආවෙ නැතත් ඒකත් එන බව දන්නවා. ඔහොම ගිහින් තව මාසයක්, අවුරුද්දක්, දෙකක්, තුනක්... එන බවත් දන්නවා. ඒ නිසා පොරොන්දුත් දෙනවා, විවිධ සැලසුම් සකස් කරනවා, අවුරුද්දකින් දෙකකින් හෝ ඊට වැඩි කාලයකින් ඉවර කරන්න කියල විවිධ දේවල් හදන්න පටන් ගන්නවා.

දැන් මේ විදිහට කෙනෙක් මැරෙනකල්ම හිතෙන්, කයෙන්, වචනයෙන් මොනවහරි වැඩක් කරනවා. විවිධාකාරයේ පොරොන්දු දෙනවා, ඒ පිළිබඳව බලාපොරොත්තු තියනවා. **අවුරුදු 80 - 90 ක් ජීවත් වෙච්ච මහල්ලත් හෙට මොනවහරි කරන්න බලාපොරොත්තු වෙනවා. වයසට ගියා කියල ඒ බලාපොරොත්තුව අත්හැරිල නෑ. තමන්ගෙ බුලත් හෙප්පුව වේවා, හැරමිටිය වේවා, කණ්ණාඩි කුට්ටම වේවා හංගල තියන්නෙ තවමත් ඒ බලාපොරොත්තුව තියෙන නිසා.** ඕක පොඩ්ඩක් හරි එහෙ මෙහෙ වුනොත් කෑ ගහල හොයනවා. ඒ කියන්නෙ මස් ලේ කය දුර්වල වුනා කියල හිත දුර්වල වෙලා නෑ. හිතේ බලාපොරොත්තු තියෙනවා. ඔහොම ගිහින් මරණාසන්න මොහොත ආවත්, ලෝකයේ සිද්ධ වෙන්නෙ මොනවද, මගේ ළඟ බලාගෙන ඉන්නෙ කවුද, දේපළට මොකද වෙන්නෙ... ආදී වශයෙන් බලන්න අහන්න දැනගන්න කැමතියි.

ඉතින් ඔහොම ගිහින් අන්තිමට මේ මස් ලේ කයේ පණ ගියත්, අර බලාපොරොත්තුව අත්හැරිල නැත්නම් හිත තවමත් ක්‍රියාත්මකයි. යමක් හිතන, කියන, කරන මොහොතක තමයි පණ යන්නෙත්. නමුත් මෙච්චර කාලයක් තිබිච්ච මස් ලේ කය තවදුරටත් පවත්වගෙන යන්න බැරි නිසා, ඒක අඩපණ නිසා අත්හරින්න සිද්ධ වෙනවා. එතකල්ම මොනවහරි හිතනවා, කියනවා, කරනවා. හැබැයි මේ මස් ලේ කය මැරිල ගියා කියල හිත මැරුනෙ නෑ. ඒ කියන්නෙ එකම හිත දිගටම පවතිනව කියන එක නෙවෙයි. එහෙම එකාකාරීව යන එන හිතක් නෑ. ක්ෂණයක් පාසා හිත් මැරි මැරී නව හිත් පරම්පරාවක් දිගටම ඉපදි ඉපදී යනවා. හරියට දම්වැලක් වගේ. සිතිවිලි කෝටි ප්‍රකෝටි ගණන් මැරි මැරී ඉපදෙනවා. පිටින් බැලුවම පේන්නෙ නැතිවට සූක්ෂම කයත් එක්ක ඒක සම්බන්ධයි. මොකද බලාපොරොත්තුව තවම තියෙන නිසා.

**එහෙම බලාපොරොත්තු අංශු මාත්‍රයක්වත් නැතිවෙන්න නම් සියලු කෙලෙස් ප්‍රහීණ කරල අරිහත්වයට පත් වෙලා තියෙන්න ඕන.** අන්න එතකොට නම් මේ තියෙන මස් ලේ කයේ මරණින් පස්සෙ නැවත ඉපදීමක් නෑ. නමුත් එසේ නොවන සියලු දෙනාම මොන තරම් ලොකු කතා කිව්වත්, භෞතිකවාදී අදහස් දැරුවත්, මස් ලේ කයේ මරණින් පසු කර්ම ශක්තිය ක්‍රියාත්මක වීමෙන් ඊට අනුකූලව තවත් කොහේ හරි උප්පත්තියක් අල්ලගෙන නව හිතක් හට ගන්නවා. දැන් ඉතින් නැණ නුවණින් තේරුම් ගන්න ඕන, ඊයෙත් හිටිය නම්, අදත් ඉන්නව නම්, හෙටත් ඉන්නව නම්, මස් ලේ කය මළා කියල බලාපොරොත්තුව අත්හැරල නැති නිසා, කර්ම ශක්තියෙන් නැවතත් හිත් හද හදා තවත් තැනක උප්පත්ති ගන්නවයි කියන කාරණය.

ඒ වගේම මේ කාරණය නවීන විද්‍යාවේ දියුණුවත් සමග භෞතිකවත් දැන් ඔප්පු කරන්න පුළුවන් වෙලා තියෙනවා. දැන් මේ තියෙන ඕරා කැමරා, කිර්ලියානු කැමරා... ආදී සූක්ෂම ක්‍රමවලින් මස් ලේ ඇහැට නොපෙනෙන බොහොමයක් දේවල් දැක බලාගන්න පුළුවන් වෙලා තියෙනවා. අද වෙනකොට ලෝකයේ දියුණු, උගත් යැයි සම්මත අය ඒ කාරණය



# සිතක මහිම...

ලොව්තුරා බුදු පියාණන් වහන්සේ සිත ගැන බොහෝ තැන්වල දේශනා කරල තියෙනවා. අංගුත්තර නිකායේ (1) ශුක වර්ගයේ මෙහෙම දේශනාවක් තියෙනවා.

"මහණෙනි, යමක් මෙසේ වහා ඉපිද නස්නා සුළු වේ නම්, සිත බඳු අන් එක ධර්මය කුදු මම නොදකිමි. මහණෙනි, සිත අත්‍යර්ථයෙන් වහා පෙරළෙන සුළු වේ නම්, (එයට) උපමාවකුදු අතිශය දුෂ්කර වේ."

පිළිගන්නවා විතරක් නෙවෙයි, ඒවායින් විවිධ පර්යේෂණත් කරනවා. මේ මෑත කාලයේ එක්තරා රටක සිද්ධ වෙච්ච අනතුරකින් ළමයෙක් පාර මැද මැරිල ඉන්නවා. නමුත් ළමයා අර ඇඳ ගත්ත ඇඳුම් පිටින්ම පාරෙ මැද්දෙ හිටගෙන ඉන්න දර්ශනයක් ඒ සියුම් කැමරාවෙ සටහන් වෙලා තියෙනවා. මෘත ශරීරය වෙනම තියෙනවා. වාහනත් පාරෙ එහා මෙහා යනවා. නමුත් අර කැමරාවෙ දර්ශනය වෙන ළමයට මුකුත් වෙන්නෙ නෑ. මොකද සියුම් කය හැප්පුනා කියල මරන්න බෑ. නව උපතක් කරා යනකල් ඒ සියුම් කය සුළඟට අහුවෙච්ච පරඬැල්පත වගේ. හැබැයි කලින් වගේ තමන්ට ඕන ඕන දේවල් කරගන්න බැරි වුනාට හිතීමේ ක්‍රියාවලිය නතර වෙලා නෑ.

ඒ වගේම ඒ සූක්ෂම කැමරාවල, මරණාසන්න පුද්ගලයන්ගේ මරණයත් සමගම ශරීරයෙන් ඒ හා සමාන තවත් සූක්ෂම කයක් ඉවතට විසි වෙන හැටි සටහන් වෙච්ච අවස්ථා තියෙනවා. ඒ පිළිබඳව කරපු පර්යේෂණ තියෙනවා. මැරෙනකොට මේ කය ඉවර වුනාට ඒත් එක්කම තවත් සූක්ෂම කයක් ඉවත් වෙනවා කියන කාරණය ඒ පර්යේෂණවලිනුත් තහවුරු වෙනවා. ඒක සූක්ෂම කය, මනෝමය කය (ඇස්ට්‍රල් බොඩි), ගන්ධබ්බ කය... ආදී නම්වලින් හඳුන්වනවා.

ඒ වගේම **සමහරු සිහි නැති කරල සැත්කම්වලට භාජනය කරත්දි, උඩ ඉඳගෙන ඒ සිදුවීම බලාගෙන ඉඳල, වෛද්‍යවරු හිටපු හැටි, කැපුව කෙටුව හැටි ඒ සියල්ලම ප්‍රකාශ කරපු අවස්ථා තියෙනවා. නවීන වෛද්‍ය විද්‍යාවෙන් මස් ලේ කයේ සිහිය නැති කළත්, කාටවත් නැති කරන්න බැරි මානසික ශක්තියක් ක්‍රියාත්මක වෙන බව ඒ කාරණයෙනුත් ඔප්පු වෙනවා.** එහෙනම් බලාපොරොත්තු තියෙන කල් මරණින් මතු උපතක් නෑ කියන දෘෂ්ටිය, මිත්‍යා දෘෂ්ටියක් මිසක් ඇත්තක් නෙවෙයි කියල මේ කාරණාවලිනුත් ඔප්පු වෙනවා.

දැන් ඊළඟට මේ මරණින් මතු උපතක් නෑ කියල මෙහෙම දෘෂ්ටියක් ගත්තට පස්සෙ මොකද වෙන්නෙ? ඒ පුද්ගලයට පාපයට කිසිම ලැජ්ජාවක් බයක් නැති වෙනවා. මොකද මේ අත්භවය විතරක් නම්, පව් කළා කියල විපාක එන්නෙ නෑ කියන දෘෂ්ටිය ඊළඟට එනවා. එතකොට ඕනම අසාධාරණයක් කරල තව කෙනෙක්ගෙ දෙයක් හොරකම් කරන්න, තව කෙනෙක්ව මරන්න වුනත් පෙළඹෙන්න පුළුවන්. ඒ නිසා යමක් කමක් තියෙන, දැන උගත්කමක් තියෙන අය ලෝක සම්මතයේ සිරිත්වලට ගරු කරල හෝ තමන්ට යමක් කමක් තියෙන නිසා හෝ එහෙම දේවල් නොකළට, ඒ දෙකම නැති කෙනෙක් ඒ වගේ දෘෂ්ටිගත වුනොත් හරි භයානකයි. තමන්ගෙ නැතිබැරිකම වහගන්න අර වගේ පාප කර්මවලට නිකම්ම පෙළඹෙනවා. යමක් කමක් තියෙන අය ගත්තම, ඒ ජාතියේ බහුතරයකගෙන් සමාජයට ඒ වගේ බියක් සැකක් නැති වුනත් ඒ අයගෙ ඉදිරිය අඳුරුයි. මොකද දෘෂ්ටිය බලවත්. කොයි අතට පෙරලෙයිද කියන්න බෑ.

ඒ නිසා මේ ලැබිච්ච දුර්ලභ මනුස්ස අත්බවය කියන්නෙ, හොඳ නරක තේරුම් ගන්න පුළුවන්, යමක් කමක් තමන්ගෙ හිත සුව පිණිස කරගන්න පුළුවන් අවස්ථාවක් කියන කාරණය තේරුම් අරගෙන, බුදු දහම තවමත් විද්‍යමානව පවතින කාලයක, මේ කියන මිත්‍යා දෘෂ්ටියෙන් මිදිල, මෙහෙම කෙළවරක් නැති සසර ගමනක් තියෙනවයි කියන කාරණය තේරුම් ගන්න ඕන.

*සටහන :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

ඉතින් උන්වහන්සේ සිත ගැන කිව්ව ඔය කාරණාව විග්‍රහ කරල බලමු. සිත තරම් වහ වහා ඉපදිලා නැසෙන අන් කිසිම ධර්මයක් දකින්නෙ නෑ කියලයි උන්වහන්සේ දේශනා කරන්නෙ. ඒ කිව්වෙ එකකින් එකකට මේ සිත වෙනස් වෙන වේගය ගැන උපමාවක් කියන්නත් බෑ කියන එක. ඉතින් මේ තරම් වේගයෙන් ඉපදී නැසෙන සිතක් කිව්වට අපිට එහෙම එකක් නොතේරෙන්නෙ ඇයි? එහෙම නැත්නම් මේ සිත කිව්වම දිගටම පවතින එකක් කියල තේරෙන්නෙ ඇයි? මේ හේතුවෙන් තමයි සත්වයින්ට මමත්වයක් ගොඩනැගෙන්නෙ. සරල උදාහරණයක් අරගෙන බලමු.

කෙනෙක් නළාවක් අරගෙන එක පාරක් පිඹිනවා. දැන් අපිට ඇහෙන්නෙ එක ශබ්දයයි. දැන් ඔහු නළාව පිඹින්නෙ විනාඩියකට එක වතාවයි. හරියට කියනව නම්, පළමු විනාඩියෙදි නළාව ගන්නවා, එක පාරක් පිඹිනවා. නැවත දෙවන විනාඩියෙදි තව පාරක් පිඹිනවා. ඔහොම පිඹිනකොට අපිට පැයකදි නළා හඬවල් කීයක් ඇහෙයිද? හරියටම කිව්වොත් නළා හඬවල් 60 ක් ඇහෙන්න ඕන. ඒ 60 ඇහෙන්නෙත් වෙන වෙනමයි. දැන් හිතන්න මේ මනුස්සයා තත්පර 30 කට සැරයක් නළාව පිඹිනවා කියල. දැන් පැයක් ඇතුලත නළා හඬවල් 120 ක් ඇහෙන්න ඕන. ඒ වගේම නළා හඬවල් දෙකක් මැද පරතරයත් කලින්ට වඩා අඩු වුනා. නැවතත් මේ මනුස්සයා තත්පර 15 කට සැරයක් නළාව පිඹිනවා. දැන් කොහොමද ඇහෙන්නෙ? දැන් හඬවල් 240 ක් ඇහෙන්න ඕන. නළා හඬවල් දෙකක පරතරය තවත් අඩු වුනා. ඔහොම ගිහින් තත්පර 5 කට සැරයක් පිඹිනවා. දැන් නළා හඬවල් ගණන තවත් වැඩි වුනා. ඒ වගේම නළා හඬවල් දෙකක් අතර පරතරයත් අඩු වුනා. දැන් වෙන වෙනම කඩ කඩ ඇහුනත් එකක් ළඟ එකක් වගේ ඇහෙන්නෙ. නැවතත් තත්පරයකට සැරයක් නළාව පිඹිනවා. දැන් පැයක් ඇතුලත මුලින් 60 ක් තිබුන හඬවල් ගණන 3600 ක් වෙලා. කාලය එකමයි. නමුත් පිඹින වාර ගණන වැඩි නිසා නළා හඬවල් ගොඩක් ඇහෙනවා. හඬවල් දෙකක් අතර පරතරයක් දැනෙන්නෙ නැති තරම් එක ළඟ වගේ ඇහෙන්නෙ.

ඔන්න ඔහොම ක්‍රමයක් තිබුනොත්, තත්පරයෙන් 1/10 කට අඩු කාලයකදි එක නළා හඬක් පිම්බොත් මොකද වෙන්නෙ? පැයක් ඇතුලත නළා හඬවල් කීයක් ඇහෙයිද? දැන් පරතරය අඩුකම නිසා එක ළඟ ඇහෙන නළා හඬ ටිකෙන් ටික එක හඬක් විදිහට ඇහෙනවා. දැන් තත්පරයෙන් 1/100 කට, 1/1000 කට 1/10000 කට අඩු කළොත් අර පරතරය හිතාගන්න බැරි තරමට අඩු නිසා මුළු පැයේම එකම හඬක් විදිහට තමයි ඇහෙන්නෙ. හරියට තත්පරයෙන් 1/10000 කට නළා හඬක් ඉපදුනා, ඒත් එක්කම වැයවුනා. ඉතින් පැයක් තිස්සෙ ඉපදිලා වැයවුන නළා හඬවල් කීයක් ඇත්ද? නමුත් අපිට ඇහෙන්නෙ මේ එකම එක නළා හඬක් විතරයි. අපේ හිතත් මේ වගේ. අසීමිත වේගය නිසා එකම ගොඩක් වගේ තේරෙන්නෙ. ලොව්තුරා බුදු ඇසකට විතරයි මේක පේන්නෙ. ඒකයි කිව්වෙ උපමාවක් කියන්නත් අමාරුයි කියල.

අංගුත්තර නිකායෙම තවත් තැනක ලොව්තුරා බුදුන් වහන්සේ මෙහෙම දේශනාවක් කරල තියෙනවා. “මහණෙනි, මේ සිත ප්‍රභාස්වරය, හෙ ද වනාහි ආගන්තුක උපක්ලේශයන්ගෙන් කිළිටි වූයේය” මෙතැනදි උන්වහන්සේ අදහස් කළ කාරණාව හොයල බලමු. මේ සිත ප්‍රභාස්වරයි කිව්වෙ, මූලික අවස්ථාවෙදි කිසිම ක්ලේශයක් නැතුවයි හටගන්නෙ. මොකක්ද මේ මූලික අවස්ථාව? සිංහලෙන් “සිත” කියල පොදුවේ පරිවර්තනය කළාට, පාළියේ තියෙන්නෙ “පභස්සරමිදං භික්ඛවේ චිත්තං” කියල. වැඩියෙන්ම සුදුසු වචනය තමයි චිත්ත කියන අවස්ථාව. එතකොට මේ චිත්ත කියන අවස්ථාව තමයි පිරිසිදු. ඊට පස්සෙ තමයි කෙළෙස්වලින් කිළිටි වෙන්නෙ. හරියට අළුතින් අසුරනයකින් කඩපු යම් කිසි භාණ්ඩයක් වගේ. අපි හිතමු ජංගම දුරකතනයක් කියල. ඒක පෙට්ටියෙන් එළියට අරගෙන පොලිතින් එක කඩපු ගමන් අවස්ථාව වගේ. ඒක මේ ලෝකෙ කවුරු ගත්තත් එක වගේ. ඊට පස්සෙ තමයි ඒ ඒ කෙනාගෙ භාවිතය අනුව ඒ අළුත් නැවුම් ගතිය නැතිවෙලා යන්නෙ.

මේ චිත්ත කියන අවස්ථාවත් එහෙමයි. ඒ තමයි මූලිකම අවස්ථාව. ඒ වගේම මේ සිතක් පහළ වෙන්න නම් අරමුණක් එන්න ඕන. නිකං හිතක් පහළ වෙන්නෙ නෑ. මේ හිතත් එක්ක යෙදෙන ධර්මතාවයක් තියෙනවා. මේ ධර්මතාවයට තමයි චෛතසික කියල කියන්නෙ. තිරිසන් සතෙක් වේවා, දෙවියෙක් වේවා, මනුස්සයෙක් වේවා, නිරි සතෙක් වේවා, අරිහතුන් වහන්සේ නමක් වේවා, මේ සියලු දෙනාටම පොදුවේ සිතක් පහළ වෙනව නම් ඒ සමග යෙදෙන චෛතසික හතක් තියෙනවා. ඒ චෛතසික හතට සර්ව චිත්ත සාධාරණ චෛතසික කියල කියනවා. ඒක අර කලින් කිව්ව වගේ සියලු දෙනාටම පොදු කාරණයක්. ඒක බල්ලටත් පොදුයි, අරිහතුන් වහන්සේටත් පොදුයි. ඒකයි සර්ව චිත්ත සාධාරණ කියල කිව්වෙ.

මේ විදිහට පිළිවෙලින් චෛතසික කොටස් 7 ක් තියෙනවා. මේ කොටස් හත නැතුව සිතක් ගොඩ නැගෙන්න හේතු නෑ. සිතක් පහළ වෙන්න නම් මූලිකම දේ අරමුණ. මේ අරමුණ ස්පර්ශ වෙන්න ඕන මුලින්ම. මේ අරමුණ එන්නෙ ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියන ඉන්ද්‍රිය හයෙන් එකකට. රූපයක අරමුණ නම් එන්නෙ ඇහැට. ඒ කිව්වෙ රූප අරමුණක් නම් ඇහැට ස්පර්ශ වෙන්න ඕන. ඇහැට රූපය කර්ම ශක්තියෙන් ස්පර්ශ වෙන්න ඕන. ශබ්දයක් නම් කනට ස්පර්ශ වෙන්න ඕන. ඔය වගේ අනෙක් ඉන්ද්‍රියන්වලටත් එහෙමයි. ඊට පස්සෙ මේ ස්පර්ශ වුන දේ දැනෙනවා. ඒ කිව්වෙ රූපයක් ස්පර්ශ වුනා නම්, මේ රූපයක් කියල දැනෙනවා. මේ දැනීම මාත්‍රයක් පමණයි. එතැනින් එහාට මොකුත් නෑ. රූපයක් කියල දැනීමක් ආව මිසක් මේ මොකක්ද කියල දන්නෙ නෑ. හැබැයි ඒ දැනීම සැප වශයෙන්ද, දුක් වශයෙන්ද, එහෙම නැත්නම් මධ්‍යස්ථ වශයෙන්ද ආවෙ කියල දැනෙනවා. මේ දැනීමට තමයි වේදනා මාත්‍රයක් කිව්වෙ. ඊට පස්සෙ ඒ මාත්‍රය හඳුන ගැනීමයි වෙන්නෙ. මේ හඳුන ගැනීමට කියනවා, සංඥා මාත්‍රයක් කියල.

මෙතැනදි සංඛාර මාත්‍රයක් ගොඩ නැගෙනවා. මේකට කියනවා චේතනා කියල. දැන් ඒ ආපු චේතනාව අග්‍ර කරගන්නවා. ඇහැ නම් රූපය. කන නම් ශබ්දය. ඒකෙන් ඉවතට යන්නෙ නෑ. මේකට කියනවා ඒකාග්‍රතා කියල. ඊට පස්සෙ ඒ වෙනකල් හැඳුන හිත ජීවත් කරවන්න ඕන. ඒ අනුව චිත්තක්ෂණ 17 ක් යනකල්ම හිත ජීවත් කරනවා. අතරමග කැඩෙන්නෙ නෑ. මේකට ජීවිතේන්ද්‍රිය කියල කියනවා. දැන් ලෝකයේ දෙයක් දකින්න හෝ විඳින්න නම් මාත්‍රයකින් බෑ. ඒ නිසා පෙර මතකයන් අරමුණු එක්ක එක ගොඩක් විදිහට එකතු කරගන්න ඕන. ඊට පස්සෙ තමයි විඳින්න හෝ දකින්න හෝ අහන්න හෝ පුළුවන් වෙන්නෙ. මේකට කියනවා මනසිකාර කියල. ඒ අනුවයි දේවල් හඳුන ගන්නෙ. ඉතින් මේ එක අවස්ථාවක් විතරයි. මේ වගේ අවස්ථා කෝටි ප්‍රකෝටි

ගණන් එකතු වෙලා තමයි අපි යම් කිසි දෙයක් හඳුන ගන්නෙ. ආ මේ ඉන්නෙ අපේ තාත්තා... මේ තියෙන්නෙ බුලත් කොළයක්... ආදී වශයෙන් යම් කිසි කෙනෙක් හෝ දෙයක් හඳුන ගන්නෙ හෝ ඒ අනුව ක්‍රියා කරන්නෙ.

මෙතැනදී තව දෙයක් තේරුම් ගන්න ඕන. ඔන්න ඔය එකම එක මාත්‍රයක් තුල තමයි ලෝක සත්වයා පනවන්න පුළුවන්. ඒ නිසා තමයි ලොව්තුරා බුදුන් වහන්සේ, දැක්කා දැකීම් මාත්‍රයක් පමණයි, ඇහුවා ඇසීම් මාත්‍රයක් පමණයි කියල දාරුචීරියට දේශනා කළේ. ඉතාම ගැඹුරු අදහසක් ඒ දේශනාවෙ තිබුනෙ. ඒක අහල තමයි දාරුචීරිය එවෙලෙම රහත් වුනේ. සිතක් ගොඩ නැගෙන්න මූලික වෙන චෛතසික හත ගැන තමයි ඔය කිව්වෙ. එතැන තමයි සත්වයා පනවන්න පුළුවන් එකම තැන. ඒ තැන් තමයි අර මුලින් කිව්ව වගේ ඉපදිලා වැනසිලා යන්නෙ. ඒක අතිමහත් වේගයකින් සිද්ධ වෙන නිසා එකක් වගේ පේන්නෙ. මෙන්න මේ මූලික කොටස තමයි ප්‍රභාස්වරයි කියල කිව්වෙ. මේ ආවර්ජනා මොහොත සුද්ධයි. මෙතැන රාගත් නෑ, ද්වේශත් නෑ, මෝහත් නෑ. නමුත් ආවර්ජනා මොහොතෙන් හටගත්ත චිත්තයක් නවතින්නෙ නෑ. ඒක සිද්ධාන්තයක්. චිත්තක්ෂණ 17 ගිහිල්ලමයි නවතින්නෙ. ඒක ලොව්තුරා බුද්ධ ඥානයෙන් දැකල ලෝකයට ප්‍රකාශ කරපු දෙයක් මිසක් ශ්‍රාවක ගෝචර නෑ. උන්වහන්සේ දේශනා කළාට පස්සෙයි අනෙක් අය දැනගන්නෙ. ඉතින් ඒ නියමයත් ලෝකෙට කියල දුන්නෙ ලොව්තුරා බුදුන් වහන්සේ. මේ චිත්තක්ෂණ 17 පංචද්වාර ආවර්ජනා සිත්වල නම් නියමයක්. පංචද්වාර කියල කිව්වෙ දොරවල් පහක් කියන අර්ථයෙන්.

ලෝක සත්වයෙක් මූලිකවම අරමුණු ඇතුල් කරගන්න දොරවල් පහක් තියෙනවා. මේ දොරවල් තමයි ඇස, කන, නාසය, දිව, ශරීරය කියන්නෙ. රූප අරමුණක් නම් ඇහෙන් ඇතුලට දාගන්නවා. ශබ්දයක් නම් කනෙන්. ඒ දොරවල් පහෙන් ඇතුලට අරගෙන ආවර්ජනය කරන නිසා තමයි පංචද්වාර ආවර්ජන කියල කිව්වෙ. ඒ වගේම මනෝද්වාරයෙන් ගන්න විදිහකුත් තියෙනවා. කලින් සඳහන් කළ ඇස, කන, නාසය, දිව, ශරීරය කියන මේ පහෙන් එක විදිහකින් අරමුණක් ගත්තොත් චිත්තක්ෂණ 17 ගිහින් නවතින එකයි වෙන්නෙ. අනෙක් ක්‍රමයෙදි පංචද්වාරයෙන් නැතිව පූර්ණ මනෝද්වාර ආවර්ජනා කියල ධ්‍යානවලට සමවැදිල එන චිත්ත වීතියක චිත්තක්ෂණ අසීමිතයි. ඒ ධ්‍යානයෙන් මිදෙනකල්ම ඒ වගේ චිත්ත වීති ගමන් කරනවා. අවීචිය කියල අටමහ නරකයෙන් එකක් තියෙනවා. එතැනට වැටෙන නිරි සත්වයෙකුටත් අර කලින් වගේ දුක් විඳින චිත්ත වීතිවල නිමක් නෑ. ඒ විපාක කර්ම ශක්තිය ඉවර වෙනකල් එකම වේදනාව නිමක් නැතිව විඳිනවා. ඒ චිත්ත වීතිවල කෙළවරක් දකින්න නෑ. ඒ නිසයි ඒ නිරයට අවීතිය, එහෙම නැත්නම් අවීචිය කියල කිව්වෙ. අර ධ්‍යාන සුවය විඳිනව වගේ ඒකෙ දුක් විපාක පැත්ත.

ඉතින් අවිද්‍යා අනුසය තියෙනකල් මූලිකව පහල වෙන පිරිසිදු චිත්තය කිළිටි වෙන්න පටන් ගන්නවා. වෙන වෙනම විග්‍රහ කළාට අවිද්‍යාව එක්ක යෙදෙන නිසා, අතිමහත් වේගය නිසාම, අරමුණ ගන්නකොටම කිළිටි වෙලා ඉවරයි. අවිද්‍යා අනුසය සහමුලින්ම බිඳ හෙළපු දවසටයි අවිද්‍යාවෙන් තොරව සිත් හටගන්න පටන් ගන්නෙ. ඒ සිත්වල කිළිටි වීමක් නෑ. ඉතින් මේ කිළිටි වීම නව ආකාරයකින් තමයි සිද්ධ වෙන්නෙ. චිත්තවලින් පටන් අරගෙන, මනෝ, මානසං, හදයං, පණ්ඩරං, මනෝමනායතනං, මනින්ද්‍රියං, විඤ්ඤාණං, විඤ්ඤාණක්ඛන්ධෝ කියල ඉවර වෙනවා. ඒ මොහොතේ තියෙන අවිද්‍යාව අනුව මේ සිත් කිළිටි වෙන්න පටන් ගන්නවා. නමුත් අවිද්‍යා අනුසය බිඳපු අරිහතුන් වහන්සේ ගැන නෙවෙයි මේ කතා කරන්නෙ. උන්වහන්සේටත් මේ කොටස් මේ විදිහටම ගියත් මතු සසර ගමනක් හැදෙන්නෙ නෑ. ඒක වෙනම ලිපියකින් විග්‍රහ කරන්න ඕන කාරණයක්.

මෙතැනදී කතා කරන්නෙ, අවිද්‍යා අනුසය තියෙන ඒ ඒ මට්ටමෙන් විස වෙන්න පුළුවන් අවස්ථාවක් ගැන. සෝවාන් ඵල ලාභියා සතර අපාගත නොවන මට්ටමට අවිද්‍යා අනුසය බිඳල ඉන්නෙ. නමුත් අවිද්‍යාව සහමුලින් බිඳිල නෑ. එතකොට සෝවාන් ඵල ලාභියෙකුට පහල වෙන සිත් පෙළත් මේ වගේ කිළිටි වෙනවා. නමුත් ඊට පහල පෘතජ්ජන මට්ටමට නෙවෙයි. ඒක වෙන්නෙ මෙහෙමයි.

"යස්මිං සමයේ සෝමනස්ස සහගතං, දිට්ඨි සම්පයුත්ත චිත්තං උප්පන්නංහෝති රූපාරම්මනං වා, සද්දාරම්මනං වා, ගන්ධාරම්මනං වා, රසාරම්මනං වා, පොට්ඨබ්බාරම්මනං වා, ධම්මාරම්මනං වා, යං යංවාපනාරබ්බ තස්මිං සමයේ අවිජ්ජා පච්චයා සංඛාරා"

ඉහත දේශනාවට අනුව, යම් සමයක සතුටු සිතින් දෘෂ්ටිය සමග යෙදුන සිතක් උපන්නොත්, ඒක රූප අරමුණක් වේවා, ශබ්ද අරමුණක් වේවා, ගන්ධ අරමුණක් වේවා, රස අරමුණක් වේවා, පොට්ඨබ්බ අරමුණක් වේවා, ධර්ම අරමුණක් වේවා, ඒ කියන ඒ ඒ කාරණය මුල් කරගෙන යම් සමයක අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර වේ... ඔන්න ඔහොමයි අවිද්‍යාවත් එක්ක යෙදෙන පටිච්ච සමුප්පාද චක්‍රය පටන් ගන්නෙ. ඊට පස්සෙ තව තවත් කිළිටි වෙනවා. මම කරගන්න, මගෙ කරගන්න ගිහින් අවසානයේ විඤ්ඤාණක්ඛන්ධෝ කියන තැන පොදි බැඳ ගන්නවා. මේ පොදි අතීත, අනාගත, වර්තමාන කියන කාල තුනටම අයිතියි. මම මෙහෙමයි හිටියෙ, දැන් මෙහෙමයි ඉන්නෙ, අනාගතයේ මෙහෙමයි වෙන්නෙ... කියල පොදි බැඳ ගන්නවා. ඔය අනුවයි හිත කිළිටි වෙවී සසර ගමන යන්නෙ.

චිත්ත වීතියක තීරණයක් ගන්න තැන තමයි වොත්තපන අවස්ථාව. අවිද්‍යාවෙන් නැතුව ප්‍රඥාවෙන් ගත්තොත් යන්නෙ සුද්ධ වෙන පැත්තට. හැබැයි ඒක තනියෙන් කරගන්න බෑ. ඒකට හේතුව දැන් මේ ලිපිය මේ වෙනකල් කියවපු පින්වතුන්ට තේරෙනව ඇති. පෘතජ්ජනයෙකුට අවිද්‍යා අනුසය තියෙනකල් ගන්න තීරණ සේරම අවිද්‍යාව එක්කමයි ගන්නෙ, ගැලවීමක් නෑ. මුලින්ම කිව්ව දේශනාවට අනුව,

"මහණෙනි, සිත අත්‍යර්ථයෙන් වහා පෙරළෙන සුළු වේ නම්, (එයට) උපමාව කුදු අතිශය දුෂ්කර වේ."

ඉතින් එහෙම පාලනයෙන් තොර හිතක් කොහොම තීරණයක් අරගෙන විදර්ශනාවක් වඩන්නද? වෙන වචනයකින් කියනව නම්, තනියෙන් භාවනා කරල සෝවාන් වෙන්නද? අංගුත්තර නිකාය (1) ප්‍රභාෂ්වර වර්ගයේ 21 පිටුවේ මෙහෙම දේශනාවක් තියෙනවා.

"මහණෙනි, මේ සිත ප්‍රභාස්වරයි, ඒ ද වනාහි ආගන්තුක උපක්ලේෂයන්ගෙන් කිළිටි වූයේය. ශ්‍රැත රහිත පෘතජ්ජන තෙමේ එය තත් වූ පරිද්දෙන් නොදනී. එහෙයින් අශ්‍රැතවත් පෘථග්ජනයාට චිත්ත භාවනාවක් නැතැයි කියමි."

# නිවන් ලැබ දෙන කමටහන්...



12 කොටස

දහමට අනුව ලෝකයේ යථා ස්වභාවය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්තට පස්සෙ, එතැනින් එහාට මාර්ගය වඩාගෙන සසර ගමන කෙළවර කරගන්නත්, ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි ලබන්නත් පොදුවේ සියලු පින්වතුන්ට වැදගත් වන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට වරින්වර සමාධියෙන් නැගුනු තවත් වටිනා කමටහන් පෙළක් තමයි මේ සටහන් කරන්නෙ. විශේෂයෙන් මෙවර පළ කරන බොහොමයක් කමටහන් සතර පද ගැලපෙන කාව්‍යමය ස්වරූපයෙන් යුක්තයි.

සමහර කමටහන් බැලූ බැල්මට බොහෝ දුරට එක හා සමාන වගේ පෙනුනත්, සුළු සුළු වෙනස්කම් සහිතව සඳහන් කරල තියෙන්නෙ, ඒ ඒ පින්වතුන්ට ගැලපෙන විදිහට අවස්ථානුකූලව සමාධියට නැගිච්ච ආකාරය අනුව. ඒ වගේම මේ කමටහන්වල සඳහන් සමහර කමටහන් වාක්‍ය තුන් වතාවක් වඩන්න කියල පොදුවේ සඳහන් කරල තිබුනත්, තමන්ට පහසු විදිහට කැමති වාර ගණනක් වඩන්න පුළුවන්. අනෙක් කමටහන් වාක්‍යත් එහෙමයි. කාලයක් වඩාගෙන යනකොට තමන්ට වඩාත් හොඳින් ගෝචර වන සහ වැඩෙන කමටහන් වැඩි වැඩියෙන් භාවිතා කිරීමෙන් ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව ඉහල ප්‍රතිඵල අත්පත් කරගන්න පුළුවන්.

**255.**
ථීන මිද්ධය දුරු වේවා
ප්‍රබෝධය නැගේවා

(කමටහන් වඩන විට නිදිමත ගති, කම්මැලි ගති දැනෙනව නම්, පූර්ව කෘත්‍යයක් විදිහට මෙය තුන් වතාවක් අධිෂ්ඨාන කර කමටහන් වඩන්න.)

**256.**
සසර සරනා සතට සදහම්
උතුම් බුදු නුවණින් ලැබේවා
සසර දුක් කඳ නිවන සදහම්
උතුම් දම් සරණින් ලැබේවා
සසර දුක් ගිනි නිවන සදහම්
මහා සඟ ගුණයෙන් ලැබේවා
සසර දුක හැර නිවෙන සදහම්
උතුම් තෙරුවන් සෙතෙනි වේවා

ඉතින් කොහොම නම් තනියම භාවනා කරල සෝවාන් වෙන්නද? ඒකට හේතුව තමයි අර කලින් කිව්ව වොත්තපන අවස්ථාව. මෙතැනින් තමයි තීරණය ගන්නෙ. මේ තීරණය ගන්න තනියෙන් බෑ. කලින් අත්දැකීම් එක්ක බැලුවම, එහෙම නැත්නම් මනසිකාර කරල බැලුවම එන්නෙ, හොඳයි වටිනවා කියන හැඟීම විතරයි. ඊට එහා දෙයක් එන්නෙම නෑ. කොච්චර වචන දැනගෙන හිටියත් මේ මොහොත එන්නෙ අවිද්‍යාවෙන්මයි. මේ අවස්ථාවෙන් පනින්න බාහිර උපකාරයක් ඕන. මේ මනසිකාරය, යෝනිසෝ මනසිකාරයට හරවන්න අර උදව්ව ඕන. ඒ උදව්ව තමයි ආර්යෙකුගෙන් (මග ඵල ලාභියෙකුගෙන්) ලැබෙන කල්‍යාණ මිත්‍ර සම්පත්තිය සහ ඊට පස්සෙ එන ධර්ම ශ්‍රවණය. මේ දෙකෙන් පස්සෙ යෝනිසෝ මනසිකාරයට එන්න පහසුයි. ඊට පස්සෙයි ධම්මානුධම්ම පටිපදාවට බැහැල ඊළඟ චිත්ත වීථි රවුම එනකොට සිත සමාධිගත වෙලා ඵල චිත්තයට එන්නෙ. මේ ඵලය ලැබුනට පස්සෙ නැවත අමුතුවෙන් කාගෙන්වත් ගුරුහරුකම් ඕන නෑ. අංගුත්තර නිකාය (1) ප්‍රභාෂ්වර වර්ගයේ 21 පිටුවේ එන දේශනාවට අනුව,

"මහණෙනි, මේ සිත ප්‍රභාස්වරය, එ ද වනාහි ආගන්තුක උපක්ලේෂයන්ගෙන් මිදින. ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවක තෙමේ එය තත් වූ පරිද්දෙන් දනී. එහෙයින් ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයාට චිත්ත භාවනාවක් ඇතැයි කියමි."

දැන් ආර්ය ශ්‍රාවකයෙක් නිසා ඊළඟ වොත්තපන අවස්ථාවෙ ගන්න තීරණ ඒ මට්ටමේ තියෙනවා. ප්‍රඥාවට අනුව තනිවම තීරණ අරගෙන කෙළෙස් දවමින් අරිහත් ඵලයට එනකල්ම යන්න පුළුවන්.

***වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දේශිත සැඟවුනු දහම් කරුණු සමගින් සකස් කළේ :***

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු - ගොතටුව**
**076-3446839**

257.
සසර දුක් විඳි සතෙක් කිසි විට
හදේ දුකකට පත් නොවේවා
රාග දෝසද මෝහ යන දුක්
කිසිම සතෙකුට අත් නොවේවා
දිනෙන් දින දියුණුවේ පිය මග
සියලු සත හට අත්ම වේවා
හදේ දුක් ගිනි නිවා දෙනෙතේ
පෙනුම සත හට අත්ම වේවා

(මේ කමටහන ලෝකෝත්තර වශයෙන් ගත්තම ප්‍රඥා ඇස පහල වෙන්න කියන අදහසත්, ලෞකික වශයෙන් මස් ලේ ඇහේ පෙනුම ලැබෙන්න කියන අදහසත් කියවෙනවා. ඒ නිසා ඇස් පෙනීමේ ආබාධ තියෙන අයටත් කර්ම විපාකය ගෙවා ගන්න කමටහනක් වශයෙන් වඩන්න සුදුසුයි.)

258.
සැමටම සම්මා තිසරණ සරණ වෙත්වා
නිබ්බාන පරම සුඛයෙන් සුඛිත වෙත්වා

259.
මේ කය මැරිල යම් දවසක
කුණු වෙනවා
ඇට කටු දිරල මහ පොළවට
පස් වෙනවා
හැඩ වැඩ කියල මෝඩයො
මෙහි රැවටෙනවා
(කුණු කය හැරල බොදුනුවො
නිවනට යනවා)
(කුණු කය හැරල බොදුනුවො
නිදහස් වෙනවා)
(අතහැර මිදිල බොදුනුවො
නිවනට යනවා)
(අතහැර මිදුන දවසට
නිවනම වෙනවා)
(අවසාන පදය ඉහත හතර ආකාරයෙන් කැමති ආකාරයකට යොදාගෙන භාවිතා කරන්න.)

260.
කැඩෙන දිනක කය කැඩුනාවේ
බිඳෙන දිනක කය බිඳුනාවේ
නැසෙන දිනක කය නැසුනාවේ
අමා නිවන් සුව ලැබුනාවේ

මේ කමටහන පහත ආකාරයටත් වඩන්න පුළුවන්.

කැඩෙන දාක කය කැඩුනාවේ
බිඳෙන දාක කය බිඳුනාවේ
නැහෙන දාක කය නැහුනාවේ
අමා නිවන් සුව මට වුවේ
(අමා නිවන් සුව මට හිමිවේ)

261.
කැඩෙන දේ කැඩෙත
බිඳෙන සැම දේ බිඳෙත
සියලු දිවි (දේ) නැසෙත
නිවන දුටු විට දුකෙන් මිදෙත

262.
කැඩෙන දේ කැඩෙත
බිඳෙන හැම දේ බිඳෙත
නැහෙන දේ නැහෙත
අතැර මිදුනම නිවන දකිත

263.
පෙනෙන සියලු දෙය වැනසිල යනවා
ඇසෙන සියලු දෙය වැනසිල යනවා
දැනෙන සියලු දෙය වැනසිල යනවා
නිවන සතට නිති සැනසුම දෙනවා

264.
හට ගත් සිත වැනසෙනවා
හට ගත් කය වැනසෙනවා
හට ගත් ලොව වැනසෙනවා
අතහැරියොත් සැනසෙනවා

265.
හිත බැඳි සැම දෙය (දේ) වැනසිල යනවා
අතහැර මිදුනම නිවනම වෙනවා

266.
හැඩ වැඩ හැම අය වැහැරිල මැරෙත
අතහැර මිදුනම නිවනම ලැබෙත
හැඩ වැඩ හැම දෙය වැහැරිල නැසෙත
අතහැර මිදුනම නිවනම ලැබෙත

267.
හැඩ වැඩ හැම අය වැහැරිල මැරෙත
හැඩ වැඩ හැම දෙය වැහැරිල නැසෙත
අතහැර මිදුනම නිවනම ලැබෙත
(අතහැර දැමුවම නිවනම ලැබෙත)
නිවනම නිවනම සැනසුම ලැබෙත

268.
සම්මා තිසරණ සරණයි
මල පරවෙන ලෙස කය පරවෙනවා
මල වැනසෙන ලෙස කය වැනසෙනවා
අතහැර මිදුනම නිවනම වෙනවා
(අතහැර මිදුනම නිදහස වෙනවා)
නිවනම නිවනම සැනසුම වෙනවා

269.
මල පරවෙන ලෙස සැම පරවෙනවා
මල වැනසෙන ලෙස සැම වැනසෙනවා
අතහැර මිදුනම නිදහස වෙනවා
නිවනම නිවනම සැනසුම වෙනවා

270.
මල පරවෙන ලෙස කය පරවෙනවා
මල මැලවෙන ලෙස කය මැලවෙනවා
(මල වැනසෙනලෙස කය මැලවෙනවා)
අතහැර මිදුනම නිදහස වෙනවා
නිවනම නිවනම සැනසුම වෙනවා

271.
පස් මරුන් දිනූ බුදු,
බුදු සරණ මට ලැබේවා
පස් මරුන් දිනූ සෙත
සැම සතට ලැබේවා

272.
බාහිර හඬ මට කටුක නොවේවා
සැමටම තිසරණ සරණ ලැබේවා

273.
බාහිර හඬ මට කටුක නොවේවා
සැමටම බුදු ගුණ සරණ ලැබේවා

274.
පව් නොකරන මගෙ හිත පිබිදේවා
පව් නොකරන මගෙ ගත පිබිදේවා
මුනිඳු පුදන මගෙ හිත පිබිදේවා
මුනිඳු පුදන මගෙ ගත පිබිදේවා

275.
රාග ගිනි නිවි නිවී නිවන් සුව දැනේවා
ද්වේශ ගිනි නිවි නිවී නිවන් සුව දැනේවා
මෝහ ගිනි නිවි නිවී නිවන් සුව දැනේවා
පාප ගිනි නිවි නිවී නිවන් සුව දැනේවා

276.
නිවන් සුව දැනි දැනී රාග ගිනි නිවේවා
නිවන් සුව දැනි දැනී ද්වේශ ගිනි නිවේවා
නිවන් සුව දැනි දැනී මෝහ ගිනි නිවේවා
නිවන් සුව දැනි දැනී පාප ගිනි නිවේවා

(ගිහි ජීවිත ගත කරන අය අවස්ථානුකූලව මෙහි "රාග" වෙනුවට "ලෝභ" යොදා වැඩීම වඩාත් සුදුසුයි.)

277.
වැහැරී වැනසෙන ජීවිතයක්
ගෙවන හැටි
වැහැරී වැනසෙන ජීවිතයක්
ගෙවන හැටි

(තමන්ට වඩන කොට "ගෙවන හැටි" කියලත්, අනුන්ට වඩන කොට "ගෙවෙන හැටි" කියලත් ගන්න. අප්‍රාණික දේවල් සම්බන්ධව ගන්න කොටත් "ගෙවෙන හැටි" කියල ගන්න. උදාහරණ : වැහැරී වැනසෙන කෝප්පය ගෙවෙන හැටි)

278.
සියල්ල ඇවිල ගත්තේය
කුමකින් ඇවිල ගත්තේද
රාග ගින්නෙන් ඇවිල ගත්තේය
ද්වේශ ගින්නෙන් ඇවිල ගත්තේය
මෝහ ගින්නෙන් ඇවිල ගත්තේය
ජාති ගින්නෙන් ඇවිල ගත්තේය
ජරා ගින්නෙන් ඇවිල ගත්තේය
ව්‍යාධි ගින්නෙන් ඇවිල ගත්තේය
මරණ ගින්නෙන් ඇවිල ගත්තේය
සෝක ගින්නෙන් ඇවිල ගත්තේය

පරිදේව ගින්නෙන් ඇවිල ගත්තේය
දුක්ඛ ගින්නෙන් ඇවිල ගත්තේය
දෝමනස්ස ගින්නෙන් ඇවිල ගත්තේය
උපායාස ගින්නෙන් ඇවිල ගත්තේය

ඇස ඇවිල ගත්තේය
රූපයෝ ඇවිල ගත්තේය
චක්ඛු විඤ්ඤාණයෝ ඇවිල ගත්තේය
චක්ඛු සම්ඵස්සයෝ ඇවිල ගත්තේය
චක්ඛු සම්ඵස්සජා වේදනාවෝ
ඇවිල ගත්තේය

කන ඇවිල ගත්තේය
ශබ්දයෝ ඇවිල ගත්තේය
සෝත විඤ්ඤාණයෝ ඇවිල ගත්තේය
සෝත සම්ඵස්සයෝ ඇවිල ගත්තේය
සෝත සම්ඵස්සජා වේදනාවෝ
ඇවිල ගත්තේය

නාසය - ගන්ධයෝ
ඝාන විඤ්ඤාණයෝ
ඝාන සම්ඵස්සයෝ
ඝාන සම්ඵස්සජා වේදනාවෝ
දිව - රසයෝ - ජිව්හා විඤ්ඤාණයෝ
ජිව්හා සම්ඵස්සයෝ
ජිව්හා සම්ඵස්සජා වේදනාවෝ

කය - පොට්ඨබ්බයෝ
කාය විඤ්ඤාණයෝ
කාය සම්ඵස්සයෝ
කාය සම්ඵස්සජා වේදනාවෝ
මන - ධර්මයෝ
මනෝ විඤ්ඤාණයෝ
මනෝ සම්ඵස්සයෝ
මනෝ සම්ඵස්සජා වේදනාවෝ

(පෙර සේ විස්තර කරගන්න.)
මෙසේ සියල්ල ඇවිල ගත්තේය
එගිනි නිවීම නිවනයි
නිවනම වෙත්වා///

279.
මටද හැමදෙනාටද
කාම ලෝක අසාරයි
රූප ලෝක අසාරයි
අරූප ලෝක අසාරයි
සියලු ලෝක අසාරයි
අතහැරීම සාරයි - අතහැරීම වෙත්වා
නොඇලීම සාරයි - නොඇලීම වෙත්වා
නොබැඳීම සාරයි - නොබැඳීම වෙත්වා
මිදීම සාරයි - මිදීම වෙත්වා
නිබ්බාන සාරයි
නිබ්බාන වෙත්වා///

280.
මටද හැම දෙනාටද
රූප උපාදානයෝ අසාරයි
රූප උපාදානයෝ නිරෝධ වෙත්වා
වේදනා උපාදානයෝ අසාරයි
වේදනා උපාදානයෝ නිරෝධ වෙත්වා
සංඥා උපාදානයෝ අසාරයි
සංඥා උපාදානයෝ නිරෝධ වෙත්වා
සංඛාර උපාදානයෝ අසාරයි සංඛාර
උපාදානයෝ නිරෝධ වෙත්වා
විඤ්ඤාණ උපාදානයෝ අසාරයි
විඤ්ඤාණ උපාදානයෝ
නිරෝධ වෙත්වා

**<u>අරිහත් ඵලය සඳහා පැවිදි උතුමන්ට විශේෂ කර්මස්ථාන</u>**

281.
කාම තණ්හා නිරෝධයි
රූප තණ්හා නිරෝධයි
අරූප තණ්හා නිරෝධයි
සියලු තණ්හා නිරෝධයි

282.
රූප කාම නිරෝධයි
ශබ්ද කාම නිරෝධයි
ගන්ධ කාම නිරෝධයි
රස කාම නිරෝධයි
පොට්ඨබ්බ කාම නිරෝධයි
ධර්ම කාම නිරෝධයි

283.
රූප උපාදාන නිරෝධයි
ශබ්ද උපාදාන නිරෝධයි
ගන්ධ උපාදාන නිරෝධයි
රස උපාදාන නිරෝධයි
පොට්ඨබ්බ උපාදාන නිරෝධයි
ධර්ම උපාදාන නිරෝධයි

284.
කාම ලෝක බන්ධන නිරෝධයි
රූප ලෝක බන්ධන නිරෝධයි
අරූප ලෝක බන්ධන නිරෝධයි
සියලු ලෝක බන්ධන නිරෝධයි

285.
කාම භව නිරෝධයි
රූප භව නිරෝධයි
අරූප භව නිරෝධයි

(ඉහත කර්මස්ථාන දෙකේ "නිරෝධයි" යන්නට "නිරෝධ වෙත්වා" කියාද ගත හැක.)

286.
අවිජ්ජා සහගත පංචකාමයෝ
තුච්චයි නින්දිතයි ළාමකයි
දාහ සහගතයි (සහිතයි)
අනිච්චයි දුක්ඛයි අනත්තයි
අතහැරීම නාථයි - අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි - නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි
නිවනම වෙත්වා///

287.
සියලු ලෝක ආස්වාද බන්ධන
අනාථයි///
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි
මමද සියලු ලෝක
සියලු සත්වයෝ කෙරෙහි
සියලු ලෝක ආස්වාද බන්ධන
අතහැරීම වෙත්වා
නොඇල්ම වෙත්වා
මිදීම වෙත්වා
නිවනම වෙත්වා///

288.
කාම ලෝක අනාථයි
රූප ලෝක අනාථයි
අරූප ලෝක අනාථයි
සියලු ලෝක අනාථයි
නිවනම නාථයි///

289.
සත්ව ලෝක අනාථයි
සංඛාර ලෝක අනාථයි
ඕකාස (අවකාස) ලෝක අනාථයි
සියලු ලෝක අනාථයි
නිවනම නාථයි///

290.
සතර අපා ලෝක අනාථයි
කාම සුගති ලෝක අනාථයි
රූපාවචර ලෝක අනාථයි
අරූපාවචර ලෝක අනාථයි
සියලු ලෝක අනාථයි
අතහැරීම නාථයි
නොඇල්ම නාථයි
මිදීම නාථයි
නිවනම නාථයි///

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



24 වන කොටස

## සංයුක්ත නිකාය - 1

<u>ඕඝතරණ සූත්‍රය - 2 පිටුව</u>

බුදු රජුන් නොපිහිටමින් වෑයම්ද නොකරමින් ඕඝ (සසර සයුර) තරණය කළේ යැයි පවසයි. මෙය උපමාවකින් පහදයි. ජලයේ මුකුත් නොකර පිහිටා සිටින විට දියේ ගිලෙන්න බලයි. එසේම අරි මග වඩන කෙනා මග ක්‍රියාත්මක නොකර නිකරුනේ ඉන්නා විට කෙළෙස්වලින් ගිලෙයි. ඒ නිසා නොපිහිටා ඒ සඳහා ක්‍රියාත්මක වේ. ඕනෑවට වඩා වෑයම් කළොත්, දඟලන්න ගියොත් එයද අධික වෙහෙසක් වී දියේ ගිලෙයි. නිවන් දකින්නත් ඕනෑවට වඩා විරිය කළහොත් සිත වික්ෂිප්ත වේ. එම නිසා සමව තබාගත යුතුයි. වීණාවේ උදාහරණයද මෙයට ගත හැක. එනම්, වීණාවේ තත් වැඩිය තද කළොත් නියම නාදය නොවේ. එසේම වැඩිය බුරුල් කළොත් එවිටද නියම නාදය නොවේ. එම නිසා සමව තිබිය යුතුය.

<u>නිමොක්ඛ සූත්‍රය - 4 පිටුව</u>

බුදු රජුන් සත්වයන්ගේ නිමොක්ඛය (මග) පමොක්ඛය (ඵලය) විවේකය (නිවන) ගැන පෙන්වයි.

<u>උපනීයති සූත්‍රය - 4 පිටුව</u>

ලෝකාමිසය දුරු කිරීමට හේතු වන ත්‍රිවිධ භය පෙන්වයි. එනම් අල්පායුස ඇති බව, ජරාව, මරණය.

<u>අච්චෙන්ති සූත්‍රය - 6 පිටුව</u>

ලෝකාමිසය දුරු කරන තවත් ත්‍රිවිධ භයක් පෙන්වයි. එනම් කාලය ඉක්ම යයි, රාත්‍රිය ගෙවී යයි, ඒ අනුව ආයුසද ගෙවී යයි.

<u>කතිඡින්ද සූත්‍රය - 6 පිටුව</u>

5 ක් සිඳ, 5 ක් දුරු කර, 5 ක් වඩා, 5 ක් ඉක්මවා ඕඝ තින්න (එතෙර) වේ. (සිඳින 5 ඕරංභාගිය සංයෝජනයි. එනම් සක්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස, කාම රාග, පටිඝ. දුරු කරන 5 උද්දංභාගිය සංයෝජනයි. එනම් රූප රාග, අරූප රාග, මාන, උද්ධච්ච, අවිද්‍යා. වඩන 5 නම් ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා.)

<u>ජාගර සූත්‍රය - 6 පිටුව</u>

නිදද්දී නිදි වරන, නිදි වරද්දී නිදන විස්තරයක් ඇත. නිදද්දී නිදි වරන කී විට, පංචේන්ද්‍රියන් ක්‍රියාත්මක නොවුනත් (අවදිව නැතත්) නීවරණ අවදියි. නිදි වරද්දී නිදන කී විට, පංචේන්ද්‍රියන් නිදි නැතිව අවදියෙන් සිටියත්, පංච නීවරණ ක්‍රියාත්මක නෑ, අවදියෙන් නෑ.

<u>අප්පටිවිදිත සූත්‍රය - 8 පිටුව</u>

දහම අවබෝධ කරගෙන පරවාදයන් නොගෙන, විසම ලොව සමව හැසිරෙන අයුරු පෙන්වයි.

<u>නමානකාම සූත්‍රය - 8 පිටුව</u>

මානය දුරලා, මැනවින් එකඟ වූ සිත් ඇති, සියලු උපධීන්ගෙන් මිදුනු, අප්‍රමාදීව හුදෙකලාව වසන කෙනා සසර පරතෙරට පැමිණෙන බව පවසයි.

<u>අරඤ්ඤ සූත්‍රය - 10 පිටුව</u>

සිරුරු වර්ණ පැහැදෙන හේතු පෙන්වයි. **අතීතය ගැන ශෝක නොකිරීමෙන්, අනාගතය නොපැතීමෙන් හෙවත් නොලැබෙන දෙය නොපැතීමෙන්, වර්තමානයේ හෙවත් මේ මොහොතේ පවත්නා දෙයින් යැපෙන්නහුට ශරීර වර්ණය පහදී.**

<u>නන්දන සූත්‍රය - 10 පිටුව</u>

තව්තිසා දෙව් ලොව දෙවියන්ගේ වාසස්ථානය වූ නන්දන වනය නොදකීද, ඔහු සැපය නොදකී යැයි කියූ දෙවියෙකුගේ කීමකට පිළිතුරු ලෙස තවත් දෙවියෙකු විසින් "...අනිච්ඡා සබ්බේ සංඛාරා..." නම් ගාථාව කී අවස්ථාවක්.

<u>නන්දති සූත්‍රය - 12 පිටුව</u>

ශෝක කරන හා නොකරන තැන් ගැන පෙන්වයි. දරුවන් ඇති අය දරුවන්ට කරදර හිරිහැර එන විට දරුවන් නිසාම ශෝක කරයි. දරුවන් හොඳින් ඉන්නා විට දරුවන් නිසාම සතුටු වෙයි. **සත්වයා සතුටු වන දේ තුලම දුකක් ඇති වේ කියන කාරණය** මින් පෙන්වයි.

<u>නත්ථිපුත්ත සූත්‍රය - 12 පිටුව</u>

දෙවියෙකුගේ ලෞකික පැනයකට ලෞකික පිළිතුරක් ඇත. පුත්‍රයන් කෙරෙහි ආසාව පරම ප්‍රේමය ලෙසත්, ගවයා පරම ධනය ලෙසත්, සූර්යාලෝකය පරම ආලෝකය ලෙසත්, මුහුද පරම විල ලෙසත් දෙවියන් කියා සිටි විට, බුදුන් වහන්සේ, ආත්ම ප්‍රේමය හෙවත් තමාට තමා කෙරෙහිම ඇති ප්‍රේමය පරම ප්‍රේමය ලෙසත්, ධාන්‍ය පරම ධනය ලෙසත්, ප්‍රඥාලෝකය පරම ආලෝකය ලෙසත්, වැස්ස පරම විල ලෙසත් පෙන්වා ඇත.

<u>ඛත්තිය සූත්‍රය - 12 පිටුව</u>

ශ්‍රේෂ්ඨ කරුණු 4 ක් ගැන විස්තර ඇත. දෙපා ඇත්තවුන් අතරින් ක්‍ෂත්‍රියන් ශ්‍රේෂ්ඨ බවත්, සිව්පාවුන් අතරින් ගවයා ශ්‍රේෂ්ඨ බවත්, භාර්යාවන් අතරින් බාල කලදීම සරණ පාවා ගත් කෙනා ශ්‍රේෂ්ඨ බවත්, පුතුන් අතරින් වැඩිමහල් පුත්‍රයා ශ්‍රේෂ්ඨ බවත් දෙවියන් පැවසීය. එවිට, දෙපා ඇත්තවුන් අතරින් බුදුන් වහන්සේ ශ්‍රේෂ්ඨ බවත්, සිව්පාවුන් අතරින් ආජානීය අශ්වයා ශ්‍රේෂ්ඨ බවත්,

භාර්යාවන් අතරින් ස්වාමියා සතුටු කරවන භාර්යාව ශ්‍රේෂ්ඨ බවත්, පුතුන් අතරින් කීකරු පුත්‍රයා ශ්‍රේෂ්ඨ බවත් බුදුන් වහන්සේ පැවසීය.

<u>සනමාන සූත්‍රය - 14 පිටුව</u>

**දෙවියෙකුට බිය සේ වැටහෙන දෙයක් මුනිඳුන්ට සිත් පිනවන්නක් සේ වැටහේ.** ඉර මුදුන් වේලේ පක්ෂීන් එකතුව විවේකීව ඉන්නා විට මහ වනයේ මහ හඬින් ශබ්ද කරයි. එය දෙවියන්ට බියක් සේ වැටහෙයි. එහෙත් එය බුදුන් වහන්සේට සැපයක් සේ වැටහේ, බියක් ලෙස නොවැටහේ.

<u>නිද්දාතන්දි සූත්‍රය - 14 පිටුව</u>

විරියෙන් දුරු කොට අරි මග වඩන කරුණු 5 ක්. එනම් **නින්ද, කම්මැලිකම, බඩගිනි සීත උෂ්ණාදිය නිසා ඇතිවන මැලිකම, කුසල් දහම්වල නොඇලීම, ආහාර ගත් විට ඇතිවන බත් මතය හෙවත් නිදිමත ගතිය කියන මේවා විරියෙන් දුරු කළ යුතු බව** පෙන්වයි.

<u>දුක්කර සූත්‍රය - 14 පිටුව</u>

අරමුණුවලින් නොවැළකීම මහණකට පසුබැසීමක් වන අයුරු මෙන්ම වැළකීම යහපත් වන අයුරු පෙන්වයි. පාපී අරමුණුවලින් වසඟ වූ විට සිත පසුබැසීමට ලක් වේ.

<u>හිරි සූත්‍රය - 16 පිටුව</u>

ලජ්ජාවෙන් පව් වළකා හැම කල්හිම සිහිය ඇතිව වාසය කරමින් දුක් කෙළවර කරන අය ඇත. ඔවුන් සමව හැසිරෙයි. නමුත් එවැන්නන් ඇත්තේ ස්වල්ප දෙනෙකි. එසේ නොකරන අයම බොහෝය. අරි අටඟි මග යන අය අඩු බවත්, නොයන අයම වැඩි බවත් මින් කියවේ.

<u>කුටිකා සූත්‍රය - 16 පිටුව</u>

කුටිය, කැදැල්ල, කුල පරපුර, බන්ධනය ගැන උපමා විස්තර ඇත. කුටිය මවයි, කැදැල්ල බිරිඳයි, පුත්‍රයන් කුල පරපුරයි, බන්ධනය තණ්හාවයි.

<u>සමිද්ධි සූත්‍රය - 18 පිටුව</u>

දෙව් දුවක් සමිද්ධි තෙරුන්ට කතා කර මෙසේ කී විට එය මුල් කර මුනිඳු දෙසූ දහමක් ඇත. නොවළඳා සිඟන්නේ ඇයි? වළඳා සිඟව (දෙව් දුව ඇසුවේ, මෙතරම් තරුණ කල භික්ෂූන් පංචකාම සුව නොවළඳා පිඬු සිඟා ගොස් දානය වළඳන්නේ ඇයි කියලයි). මේ ගැන බුදු හිමි දෙසා ඇත්තේ, මේ පංචකාමයෝ තාවකාලිකයි, බොහෝ දුක් සහිතයි, දැඩි වෙහෙස කරයි, බොහෝ දෝස සහිතයි, ධර්මය සන්දිට්ඨිකයි, අකාලිකයි, ඒහි පස්සිකයි, ඕපනයිකයි යනුවෙනි.

<u>සත්ති සූත්‍රය - 24 පිටුව</u>

දෙවියෙක්, හිස ගිනි ගත්තෙකු මෙන්, සැතකින් පහර ලද්දෙකු මෙන්, කාම රාග දුරලන්න සිහිය ඇතිව විසිය යුතු යැයි පැවසූ විට බුදුන් වහන්සේ, හිස ගිනි ගත්තෙකු මෙන්, සැතකින් පහර ලද්දෙකු මෙන්, සත්කාය දිට්ඨිය දුරලන්න සිහි ඇතිව විසිය යුතු යැයි දෙසීය.

<u>ඵුසති සූත්‍රය - 24 පිටුව</u>

**නිදොස්, පිරිසිදු පුද්ගලයෙකුට කරන ද්වේශය උඩු සුළඟට දැමූ දූවිලි මෙන් ඒ බාලයා කරාම පැමිණෙයි.**

<u>ජටා සූත්‍රය - 26 පිටුව</u>

දෙවියෙක් ඇසූ “අන්තෝ ජටා” ගාථාවට පිළිතුරු ලෙස බුදු පියාණන් වහන්සේ දෙසූ “සීලේ පතිට්ඨාය” ගාථා පෙළ ඇත. ඇතුලත් පිටත් ගැට ගැසී ඇත. ගැටවලින් වෙළී ඇත. එසේ හිඳින සත්වයා මේ ගැට ලිහා ගන්නේ කෙසේද? ප්‍රඥාවන්තයා සීලයක පිහිටා, සිතත් ප්‍රඥාවත් වර්ධනය කරගෙන කෙළෙස් තවන වීර්යෙන් යුතුව දක්ෂව කෙළෙස් තවමින් වාසය කර ගැට ලිහා ගනී.

<u>පජ්ජෝත සූත්‍රය - 28 පිටුව</u>

බබළන 4 ක් ඇත. දහවලට හිරු බබළයි, රාත්‍රියට සඳු බබළයි, ගින්න දිවා රෑ දෙකෙහිම බබළයි, මේ සියලු බබළන්නන් අතර බුදුන් වහන්සේ අග්‍රව බබළයි.

<u>මහද්ධන සූත්‍රය - 30 පිටුව</u>

රහත් උතුමන් ලෝකයේ ලෝක ධර්ම පිළිබඳව උත්සාහ රහිතයෝය.

<u>චතුචක්ක සූත්‍රය - 30 පිටුව</u>

රැහැන (බද්ධ වෛරය), වරපට (කෙළෙස්), ළාමක ඉච්ඡාව (නොලැබුනු දේවල් පැතීම), ලෝභය (තමන්ට ලැබුනු දේවල්වලට ඇති දැඩි ඇල්ම) අත්හැර සක් (රෝද) 4 ක්, නව දොරක් ඇති අසූචි පිරුනු ලෝභයෙන් යුත් මඩෙහි උපන් මේ කය ඉක්ම යන්නේය. එනම් මේවාට ඇති ලෝභය සිඳ තෘෂ්ණාව උදුරා ශරීරයෙන් එතෙර වෙයි, නිවන් අවබෝධ කරයි.

<u>එණිජංඝ සූත්‍රය - 32 පිටුව</u>

මනස සවැනි කොට ඇති පංච කාම ගුණයන්හි ඇල්ම දුරු කර දුකෙන් මිදෙයි.

<u>සබ්භී සූත්‍රය - 32 පිටුව</u>

සත්පුරිසයන් සමග එක්වන්නේය, සත්පුරිසයන් සමග මිත්‍ර සංසත්වය (එකතු වීම හෙවත් මිත්‍ර සමාගම) කරන්නේය, සත්පුරිසයන්ගේ සත්ධර්මය දැනීමෙන් නොයෙකුත් ලෞකික යහපත් දේ ලැබෙන ලෙස සතුල්ලපකායික දෙවිවරු පැවසූ විට, ඒ සියල්ල දැහැමි බව පවසා **සත්පුරිසයන් හා එක්වීමෙන් සියලු දුකෙන් මිදෙයි යන්න** දේශනා කර සම්පූර්ණ කර ඇත.

<u>මච්ඡරි සූත්‍රය - 36 පිටුව</u>

සතුල්ලපකායික දේවතාවෝ නොයෙක් ලෙස දාන ආනිසංස බුදු රජුන් ළඟ පවසා ඇත. බුදු රජුන් ඒ සියල්ල සම්පූර්ණ කරමින්, **දුක සේ දැහැමින් හරි හම්බ කරන දුක්පතෙක් අඹු දරුවන්ද පෝෂණය කරමින් ස්වල්පයක් ඇති කල්හිත් දන් දෙමින් දහමේ හැසිරීම ගෙන බලන විට, සහශ්‍ර යාගයක් දෙන අයගෙ දානය දිළින්දාගේ එම දානයෙන් සත භාගයකුත් නොඅගී (නොවටී)** යයි දෙසා ඇත. විස්තර ඇත.

<u>සාධු සූත්‍රය - 38 පිටුව</u>

සතුල්ලපකායික දේවතාවෝ දානානිසංස නොයෙක් ලෞකික කරුණින් වර්ණනා කළ විටෙක, බුදු පියාණන් වහන්සේ ඒ සියල්ල සුභාසිත බව පවසා සැදැහැයෙන් දීම පසසමින් **දානයට වඩා ධර්ම පදයම හෙවත් නිවනම උතුම්** බව පෙන්වා ඇත.

<u>උජ්ඣාන සඤ්ඤී සූත්‍රය - 42 පිටුව</u>

උජ්ඣාන සඤ්ඤික නම් දේවතා පිරිසක්, පෙර යම ඉක්ම ගිය කල්හි (මධ්‍යම රාත්‍රිය ඉක්මවා) බුදු පියාණන් වහන්සේ වෙත එළඹ අහසෙහි සිටියහ. එක් දෙවියෙක් අපවාද ස්වරූපයෙන්, යම් මහණෙක් අන් අයුරකින් සිට අන් අයුරක් ප්‍රකාශ කරන්නේද, ලිහිණි වැද්දා සෙයින් සිවුපසය වංචාවෙන් රවටා හොරකමින් අනුභව කරන ලද්දේ යැයි පැවසීය (එනම් හිත ඇතුලේ කෙළෙස් තියාගෙන, පිටට හොඳ පෙන්වා සිව්පසය ලබන විට, ළිහිණි වැද්දා කපටිකම් කර සත්තු මරා අනුභව කරන්නා සේ යැයි පැවසීය). බුදු පියාණන් වහන්සේ හේතු යුක්ති සහිතව කරුණු පහදා දුන් විට ඒ දේවතාවෝ බිමට බැස කමා කළත්, බුදුන් වහන්සේ සිනහ පහළ කරනු දැක අපවාද කරමින් ගියේය. එක් කෙනෙක් හේතු විමසා පිරිසිදු සිතින් කළ කමාව ඉවසන ලදී. විස්තර ඇත.

<u>සද්ධා සූත්‍රය - 46 පිටුව</u>

ශ්‍රද්ධාව පිළිබඳ සතුල්ලපකායික දෙවියන් කී විස්තරයක් ඇත. බුදු පියාණන් වහන්සේ අප්‍රමාදය වර්ණනා කර, අප්‍රමාදී තැනැත්තා මත ක්ලේශ

සංග නොවැටෙන බවත් ධ්‍යාන කරමින් උතුම් සුවයට පත් වන බවත් පෙන්වා ඇත.

<u>සමය සූත්‍රය - 46 පිටුව</u>

බුදුන් වහන්සේ ඇතුළු 500 ක් රහතන් වහන්සේලා කිඹුල්වත්පුර මහ වනයේ වැඩ සිටි දිනෙක සුද්ධාවාස දෙවියන් 4 දෙනෙක් උතුම් ගුණ කථනයක් කර, යමෙක් බුදු සරණ ගියේද, අපාගත නොවී මිනිස් සිරුර හැරපියා දෙව් පිරිස පුරලන්නාහ (දෙව් ලොව උපදින බව) යැයි පැවසීය.

<u>සකලික සූත්‍රය - 48 පිටුව</u>

බුදු රජුන් රජගහ නුවර සමීපයේ මද්දකුච්චි නම් මුව වනයේ වසන කලක පාදය ගල් පතුරකින් පහලේ විය. බොහෝ වේදනා ඉවසමින් සීහ සෙයාාවෙන් සැතපී සිටින විට බොහෝ සතුල්ලපකායික දේවතාවෝ උන්වහන්සේගේ ඉවසීමේ ගුණ වර්ණනා කළ අයුරු මෙහි දැක්වේ.

<u>පජ්ජුන්නධීතු සූත්‍රය - 52 පිටුව</u>

පජ්ජුන දෙවියන්ගේ දුව වන කොකනදා, බුදු රජුන්ට වැඳ දහම් ඇසීමෙන් තමන් ලද යහපතෙහි ගුණ කියා, යම් මිනිසෙක් බුදුන් කෙරෙහි පැහැදේද දෙව් ලොව උපදිතියි කීය.

<u>ආදිත්ත සූත්‍රය - 56 පිටුව</u>

ජරා මරණ ගින්නෙන් දැවෙන මිනිසා, දානයෙන් දුන් දේ නිසා පරලොව සුව ලබන අයුරු මෙහි ඇත. ගෙයක් ගිනි ගෙන දැවෙන කල්හි ඒ ගේ තුල ඇති බඩු භාණ්ඩවලින් යමක් එළියට දමා ගතහොත් එය මතු ප්‍රයෝජනයට පවතින්නා සේ, **දානාදී පින්කම් කළ විට එය මතු යහපත පිණිසම පවතී.**

<u>කිංදද සූත්‍රය - 56 පිටුව</u>

**අහර දෙන්නේ බලය දේ, වස්ත්‍ර දෙන්නේ වර්ණ දේ, යාන දෙන්නේ සැප දේ, පහන් දෙන්නේ ඇස් දේ, ආවාස දෙන්නේ සියල්ල දේ, දහම් දෙන්නේ අමෘතය දේ.** (දුන් දේට අනුකූල ලැබීම් විස්තරයකි.)

<u>අන්න සූත්‍රය - 58 පිටුව</u>

පහන් සිතින් අහර දෙන්නේ මෙලොව පරලොව ආහාරය ඔහුම සෙවුනේය (ඔහුට ලැබෙයි). පින්, සතට පරලොව පිහිටයි.

<u>අච්ඡරා සූත්‍රය - 58 පිටුව</u>

දෙවියෙක් ව්‍යංගාර්ථයෙන් ඇසූ පැනයකට ආර්ය මාර්ගය හා නිවන පෙන්වා බුදු රජුන් කළ දෙසුමක් ඇත. එනම්, දෙව් ලොව ඇති නන්දන වනයේ (මෝහන වනයේ) දිව්‍ය ස්ත්‍රීන් පිරිවරාගෙන සතුටු වීම, පිසාච ප්‍රේතයන් පිරිවරා ගත් සේ මුලාවක් බවත් පවසා, ඒ මුලාවෙන් නික්මෙන්නේ කෙසේදැයි ඇසීය. එවිට මෝහන වනයෙන් නික්මෙන අරි අටඟි මග බුදුන් වහන්සේ විසින් දෙසන ලදී.

<u>ජේතවන සූත්‍රය - 60 පිටුව</u>

**ගෝත්‍රයෙන්, ධනයෙන් නොව, කර්මයෙන්, විද්‍යාවෙන්, සමාධියෙන්, සීලයෙන් සත්වයෝ පිරිසිදු වෙත්.** ප්‍රඥාවෙන්, සීලයෙන්, ව්‍යුපසමයෙන් (කෙළෙස් සංසිඳීමෙන්) භික්ෂූන් අතර සාරිපුත්‍ර හිමි ශ්‍රේෂ්ඨ යැයි දෙවියෙක් කීය.

<u>මච්ඡරී සූත්‍රය - 60 පිටුව</u>

**මසුරුකම් කරන, අනුන්ට පරිභව කරන, අන්තරාය කරන මිනිසුන්, පරලොව නරකයට, තිරිසන් බවට, යම ලොවට පැමිණෙත්. මිනිස්ව ඉපදුනොත් ආහාර, කම් සැප ක්‍රීඩා දුක සේ ලබන දිළිඳු කුලයක උපදී. මසුරු මළ නැති තෙරුවන් කෙරෙහි පැහැදුන ගෞරව ඇති, දහම් ප්‍රිය කරන යමෙක් යම් තැනක උපදීද, ස්වර්ගයෙහි බබළත්. මිනිස්ව උපන්නත් භව භෝග සැප ඇති, දේපළ වස්තුවට හිමිකරුවෙක් ලෙස උපදී.**

<u>ඝටීකාර සූත්‍රය - 62 පිටුව</u>

කාශ්‍යප බුදු සසුනේදී අනාගාමි වූ ඝටීකාර, ගෞතම මුනිඳුන්ගේ බෝසත් වූ එකල මිතුරෙකි. ඔහු ඇතුළු අවිහ බඹ ලොව උපන් මේ බුදු සසුනේ හත් දෙනෙක් ගැන අහන විස්තර ඇත.

<u>ජරා සූත්‍රය - 66 පිටුව</u>

ජරාව තෙක් සීලය මැනවි. ශ්‍රද්ධාවේ පිහිටීම මැනවි. ප්‍රඥාව රුවන වේ. පින සොරුන්ට පැහැරගත නොහැකිය. එනම්, **කෙනෙක් ජරාවට පත් වන තුරා සිල් රැකීම යහපත්, පිහිටන කරුණු අතරින් ශ්‍රද්ධාවේ පිහිටීම යහපත්, වටිනා දේවල් අතරින් ප්‍රඥාව උතුම්ය.**

<u>අජරසා සූත්‍රය - 66 පිටුව</u>

නොදිරීමෙන් සීලය මැනවි (නොදිරන දේවල් අතර සීලය මනාපයි, උතුම්). ශ්‍රද්ධාව පිහිටීම මැනවි (පිහිටන කරුණු අතරින් ශ්‍රද්ධාවේ පිහිටීම මනාපයි, උතුම්). ප්‍රඥාව රුවනයි (වටිනා දේවල් අතරින් ප්‍රඥාව උතුම්). පින සොරුන්ට පැහැරගත නොහැකියි. <u>මිත්ත සූත්‍රය - 66 පිටුව</u>

මිතුරු බව දක්වන කරුණු 4 ක් ඇත. බැහැර පෙදෙසක වසන කල ගැල (තවලම) මිතුරෙකි. තමන්ගේ ගෙදර හෙවත් සිය ගේ මිතුරා මවයි. කටයුත්තක් ඇති කල්හි යහළුවා මිතුරායි. පින පරලොවට මිතුරායි.

<u>වත්ථු සූත්‍රය - 66 පිටුව</u>

පිහිට, යහළුවා, ඇසුර පිළිබඳ ලෞකික දෙසුමකි. පුත්‍රයෝ දෙමව්පියන්ට පිහිට වේ, බිරිඳ ස්වාමිපුරුෂයාට යහළුවෙකු වේ. පොළව ඇසුරු කළ ප්‍රාණීන් වැස්ස ඇසුරු කොට ජීවත් වේ. ඔවුන්ට වැස්ස මිතුරුයි.

<u>පඨම ජනේති සූත්‍රය - 68 පිටුව</u>

තෘෂ්ණාව සත්වයා උපදවයි. සිත ඔබමොබ දිවෙයි. සත්වයා සසරට පැමිණියේය. දුක ඔහුට මහත් බියයි.

<u>දුතිය ජනේති සූත්‍රය - 68 පිටුව</u>

මුල් කොටස පළමු සූත්‍රයේ මෙනි. දුකින් නොමිදේ යනු අවසාන පදයයි. එනම් නිසි මග නොයන තුරා සසර දුකින් නොමිදේ.

<u>තතිය ජනේති සූත්‍රය - 68 පිටුව</u>

මුල් කොටස පෙර සේමයි. අවසාන පදය කර්මය ඔහුට පිහිටය. එනම් පින් පව් පිහිට කරගෙන සසර ගමන් කරයි.

<u>උප්පථ සූත්‍රය - 70 පිටුව</u>

රාගය නොමගයි. වයස ගෙවේ. ස්ත්‍රිය බඹසරට කිළුටුය. තපසද, බඹසරද දිය නැති නෑමයි. (කෙළෙස්වලින් තෙත් නොවී වාසය කිරීමයි)

<u>දුතියා සූත්‍රය - 70 පිටුව</u>

පුරුෂයාට ශ්‍රද්ධාව දෙවෙනි වේ. ප්‍රඥාව අනුසාසකයි. එනම් ප්‍රඥාව පළවෙනි වී මග නොමග පෙන්වා දේ. නිවනෙහි ඇලුනු සත දුකෙන් මිදේ.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නොපළ වූ ගුණ කඳ

## දැඩි මතධාරී කිතුනු බැතිමතෙක් බුදු දහම කෙරෙහි පැහැදුන හැටි...

**XXI**



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

### අභයරතනාලංකාරය - 92

ලෝකයේ විවිධ ආගම්, ලබ්ධි අදහන මිනිස්සු අතර සමහරක් අය ඉතා දැඩි මතවල එල්බගෙන තමන්ගෙ ආගම, ලබ්ධිය ජනතාව අතරට ගෙනියන්න උග්‍ර සටනක නිරත වෙලා ඉන්නවා. ඒ ඒ ආගම්වල මූලික සාස්තෘවරු යම් කිසි අධ්‍යාත්මික ශක්තියක පිහිටල ලෝකය ගැන යමක් දැකල, ලෝකයාගේ යහපත පිණිස යම් කිසි දහමක් ප්‍රකාශ කළත්, පසුකාලීනව ඒ ආගම්, ලබ්ධි අදහන ඇතැම් පිරිස් ඒවායේ මතුපිටින් පෙනෙන අර්ථ විතරක් අරගෙන, යම් යම් වැරදි නිගමනවලට බැහැල ඒ ඔස්සේ තමන්ගෙ මතවාද ජය ගන්න බලනවා. ඒ ඔස්සේ සිද්ධ වෙන ආගමික ගැටීම්වලත් අඩුවක් නෑ. අපේ ලෝක සම්මත බෞද්ධයන් පවා සමහර වෙලාවට, විවිධ ලෞකික දේවල් ලබා දීල අන්‍යාගම්වලට හරවගන්නව කියලත් චෝදනා එල්ල වෙනවා.

ඒවායේ සත්‍ය අසත්‍යතාවය කෙසේ වෙතත්, මේ කියන්න යන්නෙ ඊට ප්‍රතිවිරුද්ධ කතාවක්. ඒ කියන්නෙ, දැඩි මතධාරී කිතුනු බැතිමතෙක් තමන්ගෙ ආගම ව්‍යාප්ත කරන්න ගිහින් බුදු දහම කෙරෙහි පැහැදිලා තමන්ගෙ තිබ්බ්ච දෘෂ්ටි මතවාද බිඳ ගත්ත අවස්ථාවක් ගැන. මෙතැනදි තවත් විශේෂ වෙන්නෙ ඔහු ලෝක සම්මතයෙත් පොඩිපහේ පුද්ගලයෙක් නොවෙන නිසා. මොකද ඔහු විදෙස් රටවල පවා ක්‍රිස්තියානි පල්ලි ගණනාවක් එක්ක ළඟින් වැඩ කරපු ප්‍රසිද්ධ දේශකයෙක්. සමාජයේ විවිධ ක්ෂේත්‍රවල ඉහල තලයේ උදවියත් බොහොමයක් ළඟින් දන්න හඳුනන ඇසුරු කරන කෙනෙක්. ඔහුගේ දෘෂ්ටිය බිඳ හැරල බුදු දහම කෙරෙහි පැහැදෙන්න, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ සුවිශේෂීය ඥාන ගෝචර දේශනා ප්‍රාතිහාර්ය වගේම දිවැස්, සමාධිත් ප්‍රබල සාධකයක් වෙලා තිබුනා. ඒ නිසා වර්තමානයෙත්, සාමාන්‍ය අයට දැක බලා ගන්න බැරි දේවල් දකින්න පුළුවන් දිවැස්, සමාධි ලබපු උත්තමයන් ඉන්නවයි කියන කාරණයත්, මේ කාලයේ ඒවායේ තියෙන වැදගත්කමත්, ඒ වගේම මෙතෙක් අර්ථ වැසී තිබුන බුදු දහමේ වටිනාකමත් මේ කතාවෙන් පිළිබිඹු වෙනවා.

මේ සිදුවීම වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි වතක සිටියදී නොයෙක් සාසනික කටයුතු, සමාධිමය බෙත්හේත්, ප්‍රතිකර්ම කරන කාලයේ වෙච්ච සිදුවීමක් වුනත්, උන්වහන්සේ පසු කාලයෙත් යම් යම් අවස්ථාවලදි මේ කතාව අපිත් එක්ක කියල තියෙනවා. ඒ වගේම මේ සිදුවීම පිළිබඳව අත්දැකීම් තියෙන පින්වතුන් තවමත් ජීවතුන් අතර ඉන්නවා. මේ සිද්ධියට සම්බන්ධ කිතුනු බැතිමතාගේ නම් ගම් සඳහන් කිරීම මේ අවස්ථාවේ සුදුසු නැති නිසා, උන්වහන්සේ ලබපු ඒ සත්‍ය අත්දැකීම විතරක් මේ විදිහට ලෝකයාගේ යහපත පිණිස සටහන් කරනවා. ඒ වගේම මේ සිද්ධියට සම්බන්ධ තවත් සුවිශේෂීය කාරණා ගණනාවක් තිබුනත්, අවස්ථානුකූලව බොහොම කෙටියෙන් තමයි මේ සටහන් කරන්නෙ. කෙසේ වෙතත් ඉදිරියේදී අවස්ථාව ලැබුනොත් "අභයරතනාලංකාරය" ලිපි පෙළේ එකතුවක් යටතේ ඒ සමහරක් කරුණු ඉදිරිපත් කරන්න බලාපොරොත්තු වෙනවා. මේ තමයි උන්වහන්සේගේ ඒ අත්දැකීම.

මේ සිද්ධිය වුනේ මම කළුගෙඩිහේන කියන ප්‍රදේශයේ සාසනික කටයුතු කරගෙන යන කාලවකවානුවේ. ඒ කාලෙ ඉතින් විවිධ අය මාව මුණගැහෙන්න එනවා. බණ දහම් අහගන්න, බෙත් හේත් ගන්න, ගෙවල් දොරවල්වල, රැකියා ස්ථානවල කරදර බාධක ඉවත් කරගන්න එන අයට අමතරව නොයෙක් තර්කවාද කරල ජය ගන්න බලාපොරොත්තුවෙන් එන අයත් හිටියා. ඒ දවස්වල එක්තරා බලවේගයකින් කටයුතු කරනව කියපු මහත්මයෙක් හැම තැනම තර්ක කරනවා, වාද කරනවා. එහෙම කරල මිනිස්සු ක්‍රිස්තියානි ආගමටත් හරව ගන්නවා. සමහර අවස්ථාවල විශේෂ දැන උගත්කමක් තිබ්බ්ච නායකයො, දේශකයො ආරංචි කරල හොයාගෙන ගිහින් ඒ අයත් එක්කත් විවිධ තර්ක වාද කරල ඒ අයගෙ මතවාද බිඳල එනවා. මොකද මේ මනුස්සයා යම් කිසි විදිහකින් ලෝක සම්මතයෙත් දැන උගත්කමක්, පිළිගැනීමක්, හැකියාවක් තිබ්බ්ච භාෂා පරිවර්තකයෙක්. ඔහුගෙ ළඟම ඥාති සහෝදරයෙකුත් රෝමයේ පල්ලි ගණනාවක් භාරව හිටපු පියතුමෙක් (ෆාදර් කෙනෙක්). ඉතින් එහේ ඉඳන් මෙහෙත් ආවා ඔය වගේ දහම් පරේය්ෂණවලින් තර්කවාද කරල මිනිස්සුන්ව ඒ පැත්තට නම්ම ගන්න.

ඔය වගේ එක අවස්ථාවක මම ගැනත් ආරංචි වෙලා මේ ස්ථානයට එන තවත් උපාසක මහත්තයෙකුට කතා කරල තිබුනා. "එහෙනම් දැන් හිතාගන්නකො, ඔය කියන මහත්තයගෙන් මම අහනවා, ඔය මහත්තයට මගෙන් තව මොනවද ඉගෙන ගන්න ඕන, දැනගන්න ඕන කියල. යං එයාව හම්බවෙන්න." ඔහු තමන්ගෙ හැකියාව ගැන මෙහෙම කතාවක් අර උපාසක මහත්තයත් එක්ක කියල මාව හම්බවෙන්න කතා කරල තිබුනා.

ඉතින් ඔහු එක්තරා ආකාරයක ක්‍රිස්තියානි නායකයෙක් නිසා, සාමාන්‍යයෙන් එහෙම ආපු කෙනෙක් එක පාරටම සාකච්ඡාවට ගන්නෙ නැති නිසා, දවසක් ඔහු අර උපාසක මහත්තයත් එක්ක කල් තියාම ඇවිදින් මාව මුණගැහෙන්න බලාගෙන හිටියා. ඔහු මාත් එක්ක වාද කරල දිනපු හැටි ලෝකයාට පෙන්වන්න කියල කැසට් එකකුත් ගෙනත් තිබුනා පටිගත කරන්න. බුලත් අතකුත් අතේ තිබුනා. මොකද මම මොනවද කරන්නෙ, අනාවැකි

එහෙම කියනවද ඔය ජාතියේ ජීවත් අහන්න. මම ඉතින් කොහොමත් සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ නොවෙච්ච කෙනෙක්ගෙන් කවදාවත් එහෙම බුලත් අතක් ගන්නෙ නෑ. ඒ වුනාට මගේ හිත කියනවා, මේ මනුස්සයව අල්ලගන්න ඕන කොටු කරගන්න ඕන කියල. කොහොම හරි මම කිව්වා, අනෙක් ඔක්කොම පිරිස යවල ඉවර වෙලා පොඩ්ඩක් ඉන්න කියන්න, සාකච්ඡා කරන්න ටික වෙලාවක් ඉන්න ඕන කියල. හා හා ඕන වෙලාවක් මම ඉන්නම් කියල මනුස්සයත් මේ වැඩ කටයුතු ඉවර වෙනකල් පැය ගණනක් අනෙක් පිරිසත් එක්ක කතා කර කර හිටියා. හැබැයි මං ළඟටවත් ආවෙ නෑ. අර උපාසක මහත්තයත් එක්ක ආපු පිරිස මොහු කවුද කියල මාත් එක්ක කියයි කියල ඔහුට සැකයක් ඇතිවෙනවට දුරින් තමයි හිටියෙ. ඒ නිසා ඒ පිරිස මං ළඟට එන්නෙ නැතිව මේ මනුස්සයව එක පාරටම එව්වා. අනෙක් පිරිස ඉඟියක් දෙන්නවත් ළඟට ආවෙ නෑ.

ආවට පස්සෙ මට ඒ වෙලාවෙ විශේෂ දර්ශනයක් සමාධියට වැටුනා. මේ මනුස්සයට ලොකු වාසනාවක් තිබුනා. සමාජයටත් ලොකු වාසනාවක් තිබ්බ නිසා ඒක තමයි මේ පැදිලා ආවෙ. ඔය මහත්තය ඉතින් මෙතැනට ආවෙ සාකච්ඡා කරන්නනේ, මොකක්ද බලාපොරොත්තුව කියල මමත් ඇහුවා. මම ආවෙ මේ විශේෂ ප්‍රශ්න ටිකකට, දැන් මහත්තය මේ කරන්නෙ මොකක්ද කියල ඔය වගේ ප්‍රශ්නයක් තමයි මගෙන් ඉස්සෙල්ලම ඇහුවෙ. මමත් ඉතින් මෙහෙම ඇහුවා. දැන් මහත්තයට දැන ගන්න ඕන මොකක්ද, ඒකයි අවශ්‍ය වෙන්නෙ. මම කරන ජීවා කියන්න ගියොත්, දවස් ගණනක් විග්‍රහ කරළත් ඉවර කරන්න බෑ. නමුත් මහත්තයට දැනගන්න යමක් තියෙනව නම් ඒක කියන්න. ඒ පාර මේ මනුස්සය, මම බෞද්ධයෙක් නෙවෙයි, ක්‍රිස්තියානි කෙනෙක් කියල... එහෙම පටන් ගෙන ටිකක් විස්තර කරගෙන ගියාම, මමත් ඔය බයිබලේ තියෙන කාරණා 2 - 3 ක් ඔහුට විරුද්ධව කිව්වා. ඒ පාර මනුස්සයා බොහොම උද්දාමයෙන් කියනවා, මහත්තය ඔය කියන බයිබලේ නියම බයිබලය නෙවෙයි, මහත්තය බයිබලය දැකලත් නෑ කියල. මම එතකොට මෙහෙම කිව්වා.

එතකොට ලංකාවෙ බයිබල් සමාගමත් ඔයගොල්ලන්ගෙ තියෙන ක්‍රිස්තියානි මණ්ඩලයක්. දැන් මේ පොතේ ලියල තියෙනවා, "සංගමය විසින් අනුමත කරන ලදී" කියල. එතකොට මේක බයිබලය නෙවෙයි නම්, මහත්තයලගෙ රෝමෙ ඉන්න අය ක්‍රිස්තියානි ආගම දන්නව නම්, ලංකාවෙ ඉන්න ක්‍රිස්තියානි පිරිසව ඔයගොල්ලො රවට්ටලනෙ තියෙන්නෙ! ක්‍රිස්තියානි ආගමේ කියල, ක්‍රිස්තියානි ආගමෙන් අනුමත නොකරපු බයිබලයක් මෙහාට දීල බොරුවක් කරල තියෙනවනෙ! එතකොට මෙහේ ක්‍රිස්තියානි අය නෑ නේද? ඔය කියන විදිහට රෝමෙ විතරයිනෙ ක්‍රිස්තියානි අය ඉන්නෙ. දැන් රෝමයේ නම් නියම බයිබලය තියෙන්නෙ, මේක බයිබලය නෙවෙයි නම්, බයිබල් සංගමයෙන් අනුමත කරල මෙහාට ඔක්කොම බෙදා හැරල තියෙන්නෙ මේ බයිබලේ නම්, මේකයි ක්‍රිස්තියානි ආගම කියල ඔය මහත්තය කියන ක්‍රිස්තියානි ආගමක් මෙහේ පතුරවල නෑනෙ! දැන් එතකොට ඔය ක්‍රිස්තියානි කියන්නෙ කොතැන ඉඳගෙනද? ලාංකික ක්‍රිස්තියානිද, නැත්නම් රෝමානු ක්‍රිස්තියානිද? රෝමානු ක්‍රිස්තියානි නම් ඔයගොල්ලො මහ අපරාධයක්නෙ කරල තියෙන්නෙ! ඔයගොල්ලො දෙවියන් වහන්සේව විස්වාස කරල, දෙවියන් වහන්සේ කියපු දේ එහේ හංගගෙන, දෙවියන් වහන්සේ කිව්ව කියල බොරුවක් මෙහේ සංගමයට දීල තියෙනවා. මොන අපරාධයක්ද මේ කරල තියෙන්නෙ! ඔයගොල්ලන්ගෙ ධර්මය නෑ කියල ඒකෙන්ම ඔප්පු වෙනව නේද?

මම මෙහෙම කිව්වම මනුස්සයට කටඋත්තර නැතිව ගියා. ඊට පස්සෙ මම ඇහුවා, කලින් කලට දිව්‍යසිවරු පහළ වෙනවා, අනාවැකි කියන්න පුළුවන් දිව්‍යසිවරයෙකුට පමණයි කියල කතාවක් ඔයගොල්ලන්ගෙ බයිබලේ තියෙනවද කියල. දැන් ඉතින් නෑ කියන්නෙ නැතිව තියෙනව කිව්වා. ඊට පස්සෙ මම ඇහුවා, මහත්තයගෙ අවුරුදු 3 ක විතර පුංචි කාලෙ මතකද කියල. එච්චර නම් මතක නෑ අවුරුදු 7 ක් යනකල් නම් මතකයි කිව්වා. මේ වෙද්දි ඔහුගෙ වයස අවුරුදු 35 ක්. මම ඉතින් අවුරුදු 35 පටන් වයස අවුරුදු 7 දක්වා විස්තර කියල අවුරුදු 7 දි වෙච්ච සිද්ධියකුත් කිව්වා. මහත්තයට අවුරුදු 7 දි මෙන්න මෙහෙම දෙයක් වුනා නේද? ඔව් මහත්තය වුනා කියල කිව්වා. ඔය විදිහට ඔහුට වයස අවුරුදු 3 ක් යනකල් මේ ජීවිතයේ විස්තර කිව්වා. ඊට පස්සෙ දැන් ඉන්න ගෙදර පිහිටීම ගැනත්, ගෙදර ඉස්සරහ පුටුවෙ වාඩිවෙලා හිටපු ඔහුගේ මියගිය පියා ගැනත්, ගේ වටා තිබ්බ ගහකොළ... ආදිය ගැනත් විස්තර ටිකක් කිව්වා. ඒ කියපු විස්තරත් හරි කිව්වා. ඊට පස්සෙ ඉදිරි දින කිහිපයක් තුලදි ඔහුට වෙන්න තියෙන සිද්ධියකුත් කිව්වා. මොනවා කිව්ව වුනත්, මහත්තය අවුරුදු 7 වෙනකල් කියපු ටික නම් හරියට හරි, එයින් එහා මට මතක නෑ කිව්වා. හැබැයි එයින් එහා ඔබට වෙච්ච විස්තරයක් තියෙනවා, ඒක දැනගන්න කැමතිද කියල මම ඇහුවා. ඔහු බොහොම සන්තෝසයෙන් ඒකත් දැනගන්න කැමතියි කිව්වා. එහෙනම් මම ඒකත් කියන්නම් කියල ඔහුගෙ පෙර අත්බැව් විස්තරයක් මේ විදිහට කිව්වා.

මහත්තය පෙර ආත්මෙ (අත්බැවේ) කතෝලික පල්ලියක පියතුමෙක් (ෆාදර් කෙනෙක්). හැබැයි මේ ලංකාවෙ නෙවෙයි. ඒක වෙන රටක. ඒ රටේ පල්ලියක් තියෙනවා. ඒ පල්ලියත් එක්ක පොකුණක් තියෙනවා. ඒ පල්ලිය ඉස්සරහ ගලින් හදපු පොඩි ගල් ගෙයක් තියෙනවා. මරියතුමියගෙ පින්තූරයකුත් ඒකෙ තියෙනවා. මෙන්න මෙහෙම තිබ්බ පල්ලියේ ඔබ පෙර භවයක පියතුමෙක් වෙලා ඉඳල තියෙනවා. මෙහේ ලාංකිකයෙක් වශයෙන් ඉඳලම ගිහින් තමයි එහේ පියතුමෙක් වෙලා ඉඳල තියෙන්නෙ. ඒ පල්ලියේ යම් කිසි ඉහල තනතුරක් මුල් කරගෙන පහලින් ඉන්න තවත් කෙනෙක් ඒ අවස්ථාව ලබා ගන්න ඒ පියතුමාට වහ දීල මරල තියෙනවා. අදටත් ඒක අභිරහසක්. ඒ පල්ලියට ඔබ මේ සැරෙත් ගිහින් තියෙනවා...

දැන් මම මෙහෙම කියාගෙන යනකොට ඔහු තමන් ළඟ තිබ්බ කුරුසියට අත තියල මෙහෙම කියනවා. මහත්තය පුදුම ඇත්තක්නෙ මේ කියන්නෙ, ඒ පල්ලියට මම මේ සැරෙත් ගියා තමයි, මම එහේ ඉඳල තමයි ආවෙ, ඔය කියන ගල් ගේත් තියෙනවා, මරියතුමියගෙ පින්තූරෙත් තියෙනවා, පහුගිය කාලෙ පත්තරෙත් දාල තිබුනා ඒ ඇස් දෙකෙන් කඳුළු වැක්කෙරුනා කියල, ඔය කියන පොකුණත් තියෙනවා, ඒකෙ හිටපු ෆාදර් කෙනෙක් මැරිල තියෙනවා. ඒක අද වෙනකල් අභිරහසක් තමයි, ඒ මමද?...

දැන් මනුස්සය මගෙන් මෙහෙම අහනවා. මම ඇහුවා, දැන් මහත්තයෝ අනාවැකි කියන්න පුළුවන් දිව්‍යසිවරයෙකුට විතරයි නේද කියල. දැන් මනුස්සයට හරි ප්‍රශ්නයක්. දැන් ඉතින් ඔය බයිබලේ තියෙන



පිංකමකට සහභාගි වූ පිරිසක් සමග

කතාව හරිද? ඒ කතාව හරි කිව්වා. එහෙනම් මොකක්ද බයිබලේ කියල තියෙන්නෙ? අනාවැකි කියන්න පුළුවන් දිවැසිවරයෙකුට පමණයි. එහෙනම් ඔබට පිළිගන්න වෙනවා, මමත් දිවැසිවරයෙක් කියල. මහත්තය මේ කිව්ව ටික මට හොඳටම ඇති විස්වාස කරන්න, අද මීට වැඩිය කතා කරන්න වෙලාවක් නෑ, මම වෙන පෝය දවසක එන්නම් කියල එදා ගියා.

ඊට පස්සෙ පෝය දවසක ආවා. ඇවිත් මාත් එක්ක කිව්වා, මේ ස්ථානයේ මහත්තයගෙ පිරිසක්නෙ ඉන්නෙ, ඒ පිරිස ඉන්න තැන මම මහත්තය එක්ක කතාබහ කළොත් මහත්තය ඒකට කැමතිද අකමැතිද කියල. මම එතකොට මෙහෙම කිව්වා. මොකද එහෙම කියන්න හේතුව? ඔබවත් මමවත් පරාජය වෙන්නෙ නෑ. **ඇත්ත දැකල ඔබ දිනුව කියන්නෙ මමත් දිනුව කියන එක. මොකද හේතු ඵල ඇතිව කතා කරල ඇත්තක් නම් දැක්කෙ, ඔබ කියන එක ඇත්ත නම් මම පිළිගන්නෙත් ඇත්තනේ! මම කියන එක ඇත්ත නම් ඔබ පිළිගන්නෙත් ඇත්තනේ! එහෙනම් අපි දෙන්නම දිනුම් නේද? මෙතන පරාද වෙන කෙනෙක් නැනෙ.** ඒ නිසා බය නැතිව කතා කරන්න. විවෘතව කතා කරන්න... මම මෙහෙම කිව්වා.

එදත් 80 ක විතර පිරිසක් සිල් අරගෙන හිටියා. එදා ඔහු කියනවා, මහත්තයා දැන් අපි බුදු හාමුදුරුවන්ගෙ කතා ටිකත් පැත්තකින් තියමු, ක්‍රිස්තුස් වහන්සේගෙ කතාවත් මම පැත්තකින් තියනවා, අපේ මේ දැන් තියෙන එදිනෙදා ජීවිතය අරගෙන කතා කරමු කියල. මම කිව්ව ඉතින් මහත්තයගෙ කැමැත්තක් කියල. අපි මෙහෙම කතා කරමු කියල ඔහු කතාව පටන් ගත්තා. මේ දැනට බෞද්ධ කියල පිරිසක් ඉන්නවා, ක්‍රිස්තියානි කියල පිරිසක් ඉන්නවා. දැනට මේ බෞද්ධ කියල ඉන්න අයගෙ ජීවන රටාව බැලුවම බොහොම පිරිහිලා තියෙන්නෙ. දැනට ක්‍රිස්තියානි කියල ඉන්න අයගෙ ජීවිත හරිම සමගියි, සශ්‍රීකයි. මේ වෙනස මහත්තයට පේනවද කියල ඔහු මගෙන් ඇහුවා. මම කිව්වා පේනවා කියල. මටත් ඕන කළේ ඕක තමයි කිව්වා. මම ඇහුව ඇයි කියල. අපේ ආගමේ තියෙනවා නීති මාලාවක්. දැන් මේ බෞද්ධ පිරිසට නීති මාලාවක් නෑ. ඒගොල්ලන්ට නිදහසක් කියල එකක් තියෙනවා. දැන් නිදහස තියෙන අයටද හරි ගිහින් තියෙන්නෙ, අපේ නීති මාලාව තියෙන අයටද? දැන් කවුද මේ අයගෙන් වැදගත්?

ඔහු මෙහෙම ඇහුවම මම කිව්වා, ඊට ඉස්සෙල්ල මට වැදගත් දෙයක් තියෙනවා මේ දැන් කියන කතාවෙන්ම අහන්න. මහත්තය බෞද්ධ කියන පිරිස හැටියට සැළකුවෙ කවුද? ක්‍රිස්තියානි පිරිස හැටියට සැළකුවෙ කවුද? කොයි පිරිසද? මම ඇහුවා, මහත්තය බෞද්ධ කියන පිරිස කවුද කියල දන්නවද? ඔය ලේබල් බෞද්ධද? ඔය ලේබල් බෞද්ධ කතාවත් එක්ක නම් කියන්නෙ, ඔය මහත්තයගෙ කතාව හරි. හැබැයි මම කතා කරන්නෙ ඒ ලේබල් බෞද්ධකම ගැන නෙවෙයි, නියම බෞද්ධකම ගැන. ඒ බෞද්ධකම ගැන මම වැඩි දෙයක් දන්නෙ නෑ, මහත්තයට විශේෂ දෙයකින් ඔප්පු කරන්න පුළුවන්ද කියල ඔහු මගෙන් ඇහුවා. මම කිව්වා පුළුවන් කියල. මොකකින්ද? ඇත්ත පෙන්වල. කොහොමද ඒ ඇත්ත පෙන්වන්නෙ? මම මහත්තයට උපමා ටිකක් පෙන්වන්නම්. මහත්තය ඊට අනුව හරියට ඇත්ත කතා කරල කියන්න. බෞද්ධකම කියන්නෙ මොකක්ද කියල මම පෙන්වන්නම්.

මම මෙතැනදී බුදු හාමුදුරුවෝ කිව්ව එක අරගන්නෙ නෑ. දැන් තියෙන දේවල් උපමාවලින් පෙන්වනවා. මහත්තයට පේනවද අර කොහොඹ ගහ කියල එතන තියෙන කොහොඹ ගහක් පෙන්නුවා. ඔව් පේනවා. මහත්තය ඔය කොහොඹ ගහට අවුරුදු කීයක් වයස ඇත්ද? මම හිතන්නෙ අවුරුදු 2 - 3 ක්. හරි එච්චර ඇති. මම ඇහුවා, ඔය කොහොඹ ගහ හැදුන හැටි මහත්තය දන්නවද? දැනට අවුරුදු 2 - 3 කට විතර ඉස්සෙල්ල ඔතන කොහොඹ ගහක් තිබුනද? තියෙන්න පුළුවන්ද? බැනෙ. මම කිව්වා, අපි කොහොඹ ඇටයක් හිටෙව්වා. ඔය කොහොඹ ඇටය පැළ වුනා. පැළ වෙලා රිකිළි දැම්මා. ඊට පස්සෙ ටිකෙන් ටික අතු පතර බෙදුනා. දළු ආවා, කොළ ආවා, කඳ වැඩුනා. එහෙම වැඩීමේ ක්‍රියාවලියක් නිසා අද මහත්තයටත් මටත් මේ කොහොඹ ගහ ඔය ගානට පේනවා. දැන් ඔය ටික ඇත්තද? ඔව් ඉතින් ඒක එහෙමනේ කියල මනුස්සය උත්තර දුන්නා.

කොහොඹ ඇටය හිටවනකොට ඒක ඒ ආකාරයෙන්ම ස්ථිරවම කොහොඹ ඇටය විදිහටම තිබුන නම්, කොහොඹ පැළයක් දකින්න පුළුවන්ද? බෑ කිව්වා. එහෙනම් මොකක්ද වුනේ? කොහොඹ ඇටය කොහොඹ ඇටය හැටියට නොතිබී, හේතු ඵල වශයෙන් යම් කිසි වෙනසක් වීම නිසා ඵලයක් ආව කියල හිතාගන්න පුළුවන්ද? පුළුවන්. දැන් කොහොඹ ඇටය ඉතිරි වුනාද? නෑ. කොහොඹ ඇටය දැන් නෑ. දැන් කොහොඹ පැළය තියෙනවා, කොහොඹ ගහ තියෙනවා. ඔය පැළයට පොහොර ඇවිත්, වතුර ඇවිත්, අව්ව ඇදිල ඇවිත් ඒ හේතු නිසා පැළයක් වශයෙන් තිබුන කොහොඹ ගහේ කොළ දැම්මා, දළු දැම්මා, අතු ආවා කියල ඔබට විස්වාස කරන්න පුළුවන්ද? ඒ පාර ඒකත් පිළිගන්න පුළුවන් කිව්වා. කොහොඹ ඇටය කොහොඹ ඇටය විදිහටම නිත්‍ය වුනා නම්, ස්ථිර වුනා නම්, එහෙම්ම පැවතුනා නම්, පැළයක් එන්න පුළුවන් ක්‍රමයක් තියෙනවද?

දැන් මේ මනුස්සයට නිත්‍යයි, සදාකාලිකයි, දෙවියන් වහන්සේ... කියන මේ කාරණා හිතේ තියාගෙනයි මම මේ කතා කරන්නෙ. දැන් ඔහුට උත්තර දෙන්න බෑ. මම කිව්වා, දෙවියන් වහන්සේගේ නාමයෙන් ඔබට වැටහෙන විදිහට ඇත්ත කියන්න කියල. එතකොටම මනුස්සය ගැස්සුනා. මොකද ඒ තරම් බයයි ඔය වචනෙ කියනකොට. දෙවියන් වහන්සේගේ නාමයෙන් ඔබ ආපු කාරණය ඉෂ්ට

කරන්න. දැකපු ඇත්ත ඇත්ත හැටියට කියන්න. නිත්‍ය විදිහට තිබුන නම් කොහොඹ පැළයක් හැදෙන්න විදිහක් නැනෙ! කොහොඹ ඇටය පැළේ වෙලා, පොහොර දාල, වතුර දාල, අව් රශ්මිය ඇදිල, ඒ හේතූන් නිසා ඒකෙන් ඔය දළු ආවා කියන එක සිද්ධ වුනා නම්, දළු කාලෙදි, පැළේ කාලෙදි නිත්‍ය වුනා නම් ගහ හැදෙන්න පුළුවන්ද? දැන් මනුස්සය උත්තර දෙන්නෙ නෑ. මම කිව්වා, දෙවියන් වහන්සේගේ නාමයෙන් කතා කරන්න කියල. ඒ නමින්ම කිව්වා. නිත්‍ය වුනා නම්, පැළේ පැළේ විදිහට තියෙන්න ඕන, වැඩෙන්නත් බෑ, ලොකු වෙන්නත් බෑ. එහෙනම් ඔය නිත්‍ය බව නිසාද කොහොඹ ගහ හැදුනෙ, නිත්‍ය නැති නිසාද? නිත්‍ය නෑ ස්ථිර නෑ, ඒ නිසා වෙනසක් වෙච්ච නිසා තමයි මේ ගහ දකින්න හම්බ වුනේ.

එහෙම නම් දැන් ඔබ හිතන්න ඔබේ ශරීරය ගැන. ඔබ උපන්න පොඩි කාලෙ, උපන් හැටියට ස්ථිරවම හිටිය නම් ඔබේ මට්ටමේ කෙනෙක් අද පහල වෙන්න පුළුවන්ද? දැන් මනුස්සයට උත්තර නොදිත් බෑ, කොටු වෙලා ඉවරයි. කොහෙන් ගියත් හිර වුනා කියල දැනගත්තා. ඒ පාර කිව්වා, ස්ථිරව තිබුන නම් මේ කය පොඩි කාලෙ පොඩි විදිහටම තියෙන්න එපැයි, ලොකු වෙන්න විදිහක් නෑ කියල. එහෙනම් මේ ලෝකෙ ඉන්න අනෙක් ඔක්කොම අය ගැන බලන්න. ඔය **ක්‍රිස්තියානි ආගමේ කියන අයයි, බුදු දහමෙ කියන අයයි, නැති අයයි ඔක්කොම අය ගැන බලන්න. ඔයගොල්ලො පිළිගත්තත් නැතත් උපතෙදි උපන් හැටියට ළදරුවා ස්ථිරවම එහෙම්මම හිටිය නම් ලොකු කෙනෙක් දකින්න පුළුවන්ද? දකින්න බෑ. දැන් මේ ලොකු අය දකින්නෙ, මහලු අය දකින්නෙ මොකක් නිසාද? වෙනස් වීමක් නිසාද, නැත්නම් එහෙම්ම ස්ථිරව තිබ්බච නිසාද? වෙනස් වීමක් නිසා.** උත්තර දෙන්නෙ නැතිව ඉන්නකොට, දෙවියන් වහන්සේගේ නාමයෙන් කතා කරන්න කිව්වම, එතකොට ටක් ගාල කියනවා. **මේ ලෝකෙ ගස්වැල් බැලුවත්, ද්‍රව්‍ය වස්තු බැලුවත්, මනුස්සයො බැලුවත්, සත්තු බැලුවත්, වෙනස් වීමක් නිසාම ලෝකයක් තියෙනව මිසක් ස්ථිරවම ලෝකයක් තියෙන්න පුළුවන්ද?** දැන් මොකක්ද ඔබේ අදහස? මොනව හරි ස්ථිර නම් ලෝකයක් තියෙන්න බැනෙ.

අපි හිතමුකො මෙහෙම දෙයක්. කවුරු හරි කියනවා, ස්වර්ගය කියල තැනක් ස්ථිරයි කියල. වෙන්න පුළුවන්ද? ඒකෙ උපදින කෙනා ඉන්නව නම්, ස්ථිර නම්, යන්න පුළුවන්ද? එන්න පුළුවන්ද? ක්‍රියාත්මක වෙන්න පුළුවන්ද? ස්ථිරත්වයක් තුල ක්‍රියාත්මක නැති දෙයක් ඇති වෙන්න පුළුවන්ද? ස්ථිරත්වයක් තුල වෙන්න විදිහක් නෑ. ස්ථිරත්වයක් තුල වෙන්න දෙයක් නැත්නම්, ස්ථිර නැතිව වෙනස් වෙන්නෙ මොනවද? ඇස, කන, නාසය, දිව, ශරීරය කියන ටික ඇරෙන්න ඔබට තවත් සත්වයෙක් ගැන කියන්න පුළුවන්ද? බලාපොරොත්තු වෙන සදාතනික සත්වයෙක් ගැන කියන්න පුළුවන්ද? එහෙම එකක් වැටහෙනවද? එහෙම එකක් නම් වැටහෙන්නෙ නෑ. ඇහැක් නැති, කනක් නැති, නාසයක් නැති, දිවක් නැති, කයක් නැති, සිතක් නැති සතෙක් ගැන කතා කරන්න බෑ.

එහෙනම් කොහේ හරි යම් කිසි පුද්ගලයෙක් ඉන්නව කිව්ව නම්, ඇස් තියෙන, කන් තියෙන, නාස් තියෙන, දිව තියෙන, කය තියෙන, හිත තියෙන කෙනෙක් විය යුතු නැත්ද? විය යුතුයි. එහෙනම් **යම් තැනක යම් කෙනෙක් හට ගත්ත නම්, ඒ හට ගත්ත කෙනාට යන්න පුළුවන්නම්, එන්න පුළුවන් නම්, ඔහුගෙ චරියාවන් එකක්වත් ස්ථිරව තියෙනවද? ඒක වෙන්නෙ ස්ථිරත්වය ඇති නිසාද නැති නිසාද? ස්ථිරත්වයක් තියෙනව නම් හෙල්ලෙන්නවත් බෑ. හැදුන නම් හැදුන හැටියට ඉන්නත් ඕන, ඒක වෙනස් වෙන්නත් බෑ... එහෙම එකක් හිතාගන්න පුළුවන්ද? තියෙන්න පුළුවන්ද?** ඒ පාර මනුස්සය කිව්වා, එහෙම එකක් වෙන්න බෑ කියල. එහෙනම් ස්ථිර දෙයක් ලෝකෙ තියෙනවද? ස්ථිරත්වයක් තියෙනව නම් ලෝකයක් හැදෙනවද? ස්ථිර නම් ලෝකයක් හැදෙන්න බැනෙ මහත්තයෝ. දැන් ඒ උත්තරේ දුන්නා. යමක් ස්ථිර නෑ. නමුත් ඔබ කැමති වුනා කියල යමක් ස්ථිරත්වයෙන් පවත්වන්න පුළුවන් වෙච්ච කෙනෙක් ඉන්නවද? එහෙම උපමාවක් කොහේවත් දකින්න තියෙනවද? වැදගත්ම දෙයක් තියෙනවා. බුදු හාමුදුරුවොත් අමතක කරන්න, යේසුස් වහන්සේත් අමතක කරන්න, ඔක්කොම අමතක කරන්න, යමක් ප්‍රිය මනාප තත්වෙට ආවට පස්සෙ වෙනස් වීම තවදුරටත් නොවී තියෙනවද, නැත්නම් තවත් ගෙවිල යනවද? ඒකත් වෙනස් වෙලා යනවද?

දැන් මේකට මනුස්සයට උත්තර දෙන්න බෑ. උත්තර දුන්නොත් ආයෙත් කොටු වෙනවා. ඒ නිසා ආයෙත් නිහඬ වුනා. දෙවියන් වහන්සේගේ නාමයෙන් කතා කරන්න කිව්වම, ටක් ගාල කිව්වා, කොච්චර ප්‍රියයි මනාපයි කියල කිව්වත් වෙනස් වීම එහෙම්මනෙ, ඒකත් වෙනස් වෙනවනෙ කියල. හොඳයි ඒ ප්‍රිය මනාපයක් වෙනස් වුනොත් ඔබට සැපද දුකද? මොකද හිතෙන්නෙ ඒ ගැන? දුකයි කියල උත්තරේ දුන්නා. ප්‍රිය මනාප දේ වෙනස් වෙනව නම්, ඒක දුක නම්, ඒ වැඩපිළිවෙල හොඳයි කියල පිළිගන්නවද? හරියි කියල පිළිගන්නවද? එහෙම තැනක ඉන්න කියල යම් කෙනෙක් තීරණය කළොත්, ඒක ස්ථිරයි බොහොම හොඳයි කිව්වොත්, ඒක ඥානවන්තකමක් කියල පිළිගන්නවද? එහෙම පිළිගන්න බෑ කිව්වා.

එහෙනම් ලෝකෙ කවුද ඔය කාරණා ටික පැහැදිලි කරල කියල තියෙන්නෙ? කවුරුහරි කිව්ව කෙනෙක් ගැන අහල තියෙනවද? ආගමික නායකයො, සාස්තෘවරු හුඟක් ඉන්නවා. මහම්මත්තුමා කියයි, නබිතුමා කියයි, යේසුස් වහන්සේ කියයි, තව තවත් ආගමික නායකයො කියයි. බුදු රජාණන් වහන්සේ කියයි. අපිත් කියනව එහෙම කෙනෙකුත් හිටිය කියල. ඔය විදිහට හට ගත්ත දෙයක් වෙනස් වීම නිසා ලෝකය විද්‍යමාන වෙනවා, හට ගත්ත ප්‍රියයි මනාපයි කියල යමක් ඇත්නම් ඒක එසේ පවතින්නෙ නෑ, වෙනස් වෙලා යනවා, ඒ නිසා ප්‍රිය මනාපයට ආසා කරපු කෙනාට දුක් වෙන්න වෙනවා, ඒ දුකයි, වෙනස් වීමයි කොච්චර දැඟලුවත් නවත්වන්න බෑ, ඒකෙ හරයක් නෑ... කියල පෙන්වා දුන්න කෙනා දැන් ඔය කියපු සාස්තෘන් වහන්සේලාගෙන් කවුද කියල කියන්න බලන්න. මේ ලෝකෙ හිටපු සාස්තෘවරුන්ගෙන් ඔය ටික කිව්වෙ කවුද? බුදු රජාණන් වහන්සේ කියල කෙනෙක් තමයි ඕක කියල තියෙන්නෙ, ඒක ඇත්තද? දැන් ඔබට තේරෙන්නෙ මොකක්ද ඇත්ත කියල? යම් කෙනෙක් කිව්ව නම් ස්ථිර ලෝකයක් තියෙනව කියල, ඒක ඇත්තද? වෙන්න පුළුවන්ද? දෙකට නැමිල බෑ කියල උත්තරේ දුන්නා. එහෙම දෙයක් වෙන්න බෑ.

එහෙනම් ඇත්ත කිව්වෙ කවුද? බුදු හාමුදුරුවො ඇත්ත කියල තියෙනව කියල ටක් ගාල කිව්වා. එතකොට ඔය පොත්පත්වල කියල තියෙන විදිහට නම්, අනෙක් අය මොකක්ද කියල තියෙන්නෙ, වෙන්න පුළුවන් දෙයක්ද, බැරි දෙයක්ද? වෙන්න

බැරි දෙයක් කිව්වා. එතකොට වහන්සේ කියන්නෙ ගරු නාමයක්. එහෙනම් වහන්සේ කියන්න වටින්නෙ කාටද? බුදු රජාණන් වහන්සේ කියන එක වටිනවද, දෙවියන් වහන්සේ කියන එක වටිනවද? දෙකෙන් වැඩිය වටින්නෙ කෝකද කියල කියන්නකො. ඉතින් මම මේ ටික ඇහුවම මනුස්සයට කටඋත්තර නැතිව ගියා.

**හැබැයි මම මෙහෙම ධර්මානුකූලව ඇත්ත මතු කරල පෙන්නුවේ යේසුස් වහන්සේටවත් කාටවත් අපහාස කරන්න නෙවෙයි. ඒ වගේ අධ්‍යාත්මික ශක්තියක් තියෙන සාස්තෘවරු පහළ වෙලා ලෝකයට කියල දෙන යහපත් ලෞකික දහම් කාරණා පසුකාලීන පිරිසට තේරුම් ගන්න බැරිව අතරමං වෙලා ඉන්න බව පෙන්වා දෙන්න. මොකද දෙවියන් වහන්සේ කියන්නෙ, සත්‍යයේත් ධර්මයේත් ජීව ක්‍රියාකාරී ස්වභාවය මිසක් පුද්ගලයෙක් නොවන බවත් සඳහන් වෙනවා. (ශු.ජෝ. 172 පිටුව) "ස්වර්ග ලෝක ඔබගේ මැවිලිය. ඒවා පහව යන්නේය. එහෙත් ඔබ පවත්නා සේක. ඒ සියල්ල වස්ත්‍ර මෙන් පරව යන්නේය. ඔබ ඒවා සළුවක් මෙන් අකුලන සේක. වස්ත්‍ර මෙන් ඒවා මාරු කරනු ලබයි." ඉතින් සදාතනික ජීවනයට පත් වුනයි කියල කිව්වට, ස්වර්ගයත් පරණ වෙන බවත්, සළුවක් වගේ අකුලන බවත්, මේවා චක්‍රයක් වගේ සිද්ධ වෙන ක්‍රියාවලියක් බවත්, අනාදිමත් කාලයක පටන් පැවතෙන බවත් මේ කරුණු විමසීමෙන් බලනකොට පේනවා. ඉතින් ඔය වගේ කරුණු බයිබලයේ සඳහන් වෙනවා. නමුත් ඒවා දැන් ඉන්න අයට තෝරගන්න බැරි එකයි ගැටළුව. ඒ නිසා මේ දේව දර්ශන, දේව වාක්‍ය නිවැරදිව කල්පනාවෙන් තේරුම් ගන්න ඕන. එතකොට ඉතා නිරවුල්ව ප්‍රඥාගෝචරව පිළිතුරු ලැබෙනවා.**

ඉතින් මම මේ විදිහට තවත් විස්තර කළාම, මහත්තය මේ වගේ ස්ථාන 4 ක් ලංකාවෙ හතර පැත්තෙ තිබුන නම් බුදු දහම බබළනවා, මම අද බුදු දහම දැනගත්තා, මීට පස්සෙ මගෙ ක්‍රිස්තියානි කතාවක් නෑ, මම මේ බුද්ධ පූජාවට එනව කිව්වා. ඔන්න අන්තිමට මනුස්සය කියපු වචන ටික.

ඊළඟ සතියෙ මනුස්සයා තමන්ගෙ ගෙදර පිරිසත් එක්ක බුද්ධ පූජාවට ආවා. දැන් මේ ක්‍රිස්තියානි පල්ලි ගණනාවක් එක්ක වැඩ කරපු කෙනෙක්, මිනිස්සු ඒ පැත්තට නම්ම ගන්න ඒ පිළිබඳව දේශනා කර කර ගියපු කෙනෙක්.



එකල සිල් වැඩසටහනකට සම්බන්ධ වූ පිරිසක්

පස්සෙ මම හොයල බලනකොට සාමාන්‍ය මනුස්සයෙකුත් නෙවෙයි. සමාජයේ හොඳ ඇසුරක් තිබ්බිච්ච දැන හැඳුනුම්කම් තිබ්බිච්ච යම් කිසි හැකියාවක් තිබ්බිච්ච ප්‍රසිද්ධ මනුස්සයෙක්. ඒ පැත්තට නම්ම ගන්න ලංකාවෙ හිටපු ලොකු කථිකයෙක්. අන්තිමට මේ මනුස්සය පණිවිඩයක් යවල තියෙනවා, මම අද බුදු දහම දැනගත්තා, බොරුව දැක දැක මට බොරුවෙ රැඳෙන්න බෑ කියල. ඊට පස්සෙ ඒ අයගෙ ඥාති සහෝදරයා (පියතුමා) කලබල වෙලා නොයෙක් දේවල් කියල ලියුම් එවල තිබුනලු ඔහුව නැවත ගෙන්වගන්න.

ඊට පස්සෙ ඒ මහත්තයගෙ බාප්ප කෙනෙක් අසනීපයක් තිබිල දවසක් එක්කගෙන ආවා මාව මුණගැහෙන්න. උන්දැ ඊට වඩා ගැති ක්‍රිස්තු භක්තිකයෙක්. අඟල් 4 - 5 ක විතර ලොකු සුදු යකඩ කුරුසයක් බෙල්ලෙ එල්ලගෙන ආවෙ. අනේ මහත්තයෝ මගේ ආගම නම් වෙනස් කරන්න බෑ, අනේ මගේ කුරුසෙ ගලවන්න බෑ, මම පණ වගේ ආරක්ෂා කරගත්ත එක... එහෙම කිය කියා මනුස්සයා අඬනවා. මම කිව්වා, නෑ නෑ ඕක තියාගන්න, ඕක තිබුනට අපිට ප්‍රශ්නයක් නෑ, ඕකත් එක්කම මේකත් දාමු කියල. ඒ මනුස්සය අඬ අඬා ඉඳෙද්දිම මම නවගුණ යන්ත්‍රයත් දැම්මා. යන්තරය දාගෙන ගිහින් ඊළඟ දවසෙ, අනේ දෙවි ස්වාමීන් වහන්සේ මාව අත්හැරියා කිය කියා අඬනවලු. පස්සෙ බලනකොට සුදු යකඩ කුරුසයට වෙච්ච දෙයක් නෑ. නවගුණ යන්තරය තියෙනවා. චේන් එක ගැලවිලත් නෑ. අහකට යන්න විදිහකුත් නෑ. අවුරුදු ගණනාවක් තිබ්බිච්ච කුරුසෙට වෙච්ච දෙයක් නෑ.

ඊට පස්සෙ මනුස්සයා ඇවිත් කියනවා, අනේ මහත්තයා මොකක් වුනාද කියන්න බෑ, මේ චේන් එක ගැලවිලත් නෑ, දෙකම එකටනෙ තිබුනෙ, යන්තරේ තියෙනවා, මේ අවුරුදු ගණනාවක් තිබ්බිච්ච කුරුසෙට වෙච්ච දෙයක් නෑ කියල. මම කිව්වා, එක ආසනේ දෙකම තියෙන්න බෑනෙ ඕක හිතාගන්නකො කියල. එක ආසනේ තියාගන්න බැරි දේ එක ආසනේ තියාගන්න හැදුවට පුළුවන්ද? කුරුසෙට වෙච්ච දේ ඔබ දන්නෙත් නෑ, මම දන්නෙත් නෑ. මම නම් මොකුත් කළේ නෑ. නමුත් මම එක දෙයක් දන්නවා, බුදු **රජාණන් වහන්සේගේ ගුණයක් එක්ක සම කරල තව එකක් තියාගන්න හැදුවට තියාගන්න නම් බෑ.** කවුරු අරන් ගියා හරි, අරන් ගියේ මොකක්ද, ඉතිරි වුනේ මොකක්ද? ඇත්ත හරිය ඉතිරි වෙයි... අන්තිමට මේ මනුස්සයා බුද්ධ පූජාවටත් ඉඳල අඬ අඬා ගියා.

දැන් බලන්න සිද්ධ වෙන දේවල්වල හැටි. හරි පුදුම දේවල්. කුරුසයයි, නවගුණ යන්ත්‍රයයි දෙකම එල්ලගන්න මනුස්සයා බලාපොරොත්තු වුනා. අන්තිමට කුරුසෙට වෙච්ච දෙයක් නෑ. කුරුසෙ යන්න ගියා. වෙච්ච දේ මොකක්ද කියල ඔහු අදටත් දන්නෙ නෑ. වැටිච්ච තැනකුත් නෑ, වැටෙන්න විදිහකුත් නෑ. නැත්නම් දෙකම වැටෙන්න එපැයි. චේන් එක ගැලවිලා තියෙන්න ඕන. නමුත් ඒකත් තිබ්බිච්ච හැටියටම තියෙනවා. කුරුසෙයි, නවගුණ යන්තරෙයි දෙකම එකට තිබුනෙ. නවගුණ යන්තරය දාගෙන තුන් වරුවක් යන්න හම්බ වුනේ නෑ. අන්න වෙච්ච දේ. ඊට පස්සෙ මනුස්සයා 4 - 5 වතාවක්ම මාව මුණගැහෙන්න ආවා. ඒ දවස්වල තිබ්බිච්ච බුද්ධ පූජාවටත් සහභාගි වුනා. ඉතින් **එච්චර දැඩි ක්‍රිස්තු භක්තිකයෙක් බුදු දහම කෙරෙහි පහදවන්න බෞද්ධයින්ට පුළුවන් නම්, බෞද්ධයො ක්‍රිස්තියානි ආගමට හරවනව කියන්නෙ මොකක්ද? මෙච්චර බණ කියන**

**දේශකයො ඉඳෙත්දි කාගෙද අඩු පාඩුව දේශකයින්ගෙද? ඕක දැනගන්න එපැයි!** මම කිව්වා, බුදු රජාණන් වහන්සේ සීහ නාදයක් කළා කිව්වෙ ඔන්න ඕකයි, සීහ නාදයක් මැඩ පවත්වන්න නාදයක් ලෝකෙ නෑ, ඕක තේරුම් ගන්න කියල. **සීහ නාදය කළේ බුදු පියාණන් වහන්සේ. උන්වහන්සේගේ පැටව් ඉන්නව නම්, පැටවුන්ටත් සීහ නාදය කරන්න පුළුවන්.** අන්තිමට මනුස්සය කිව්වා, මම පිළිගන්නව කියල.

මේ සිද්ධියට එදා මුහුණ දුන්න කිතුනු බැතිමතාගෙනුත් යමක් දැන ගැනීමේ අරමුණෙන්, ඔහු තවමත් කොහේ හරි ප්‍රදේශයක ජීවත් වෙලා ඉන්නවද කියල හෝඩුවාවක් දැනගන්න මේ සටහන ලියන මට අදහසක් පහල වුනා. ඒ නිසා, එදා ඔහුව අබේරත්න උපාසක මහත්තය ළඟට එක්කගෙන ගිය උපාසක මහත්තයටත් කතා කරල ඒ ගැන විමසීමක් කළා. කොහොම හරි ඒ උපාසක මහත්තයත් සෑහෙන්න උත්සාහ කරල දුරකතන අංකයක් හොයාගෙන, මීට අවුරුදු 25 කට විතර පෙර වෙච්ච සිද්ධිය සම්බන්ධයෙන් ඔහුට කතා කරල මතකය ආවර්ජනය කළා. ඒ අනුව ඔහුව මුණගැහෙන්න අවස්ථාවක් ලැබුන නිසා, මේ කාරණය ගැන ඔහුගෙනුත් යම් තොරතුරක් දැන ගැනීමේ අරමුණෙන්, ඒ උපාසක මහත්තයත් එක්ක ඔහු ඉන්න ප්‍රදේශයට හොයාගෙන ගියා. සතුටු සිතින් බොහොම ප්‍රසන්නව සුහදව කතාබහ කරල අපිව පිළිගත්ත ඔහු, මීට අවුරුදු 25 කට පමණ පෙර වෙච්ච මේ සිදුවීම ගැන යම් පමණකට මතකය අවදි කළා. මේ තමයි ඒ මහතාගේ අත්දැකීම ඉතා කෙටියෙන්.

"ඇත්තම කියනව නම් මීට අවුරුදු 25 කට විතර උඩදී වෙච්ච ඔය සිද්ධියේදි, අබේරත්න මහත්තය කතා කරපු ඒ දහම දැන් තියෙන බුදු දහම නෙවෙයි. ඒකෙන් වෙනස් නිර්මල ගතියක්, සිත් පහන් වෙන ගතියක් ඒ දහමෙ තිබුනා. අන්න ඒ කාරණය මගේ හදවතට හොඳින් දැනුනා. ඒ කාරණය තමයි ප්‍රධාන වශයෙන්ම මම එතුමා එක්ක එකග වෙන්න, එකතු වෙන්න හේතු වුනේ. ඒ වගේ විශේෂත්වයක් තිබුනෙ නැත්නම් මම කවදාවත් සම්බන්ධ වෙන්නෙ නෑ. බුදුන් වහන්සේගේ ක්‍රියාකාරීත්වය, උන්වහන්සේ දේශනා කරපු දහම ඒ වෙත්දි වෙනත් කෙනෙක්ගෙන් නම් මට අහන්න ලැබුනෙ නෑ. ඇත්ත වශයෙන් කියනව නම් අදටත් කවුද එහෙම බණක් කියන්නෙ? ඒ වගේ හරි ලස්සන බණක් එතුමාගෙන් කියවුනා. ඒ නිසා තමයි මිනිස්සුන්ගෙ සහභාගීත්වයත් වැඩි වුනේ. ඇත්ත වශයෙන්ම ඒ බණ අහන්න විශේෂ පුද්ගලයො, යමක් කමක් තියෙන අය පවා ගොඩක් ආවා. එන්න එන්නම මිනිස්සුන්ගෙ සහභාගීත්වය ප්‍රවර්ධනය වෙන ස්වභාවයක් මට දැනුනා. හැබැයි අබේරත්න මහත්තයට ඒ අයගෙන් යමක් ලබා ගැනීමේ අවශ්‍යතාවයක් තිබුනෙත් නෑ. අවංකව ක්‍රියා කරන බව පෙනුනා. ඉතින් ඒ නිසා බොහොම හිතවත්කමක් ඇති වුනා. හැබැයි මාස 7 - 8 කට වැඩිය අපිට මුණගැහෙන්න, ඒ සම්බන්ධය දිගටම ගෙනියන්න අවස්ථාව ලැබුනෙ නෑ. මොකද මටත් විවිධ කටයුතුවලට හදිසියේම විදෙස්ගත වෙන්න සිද්ධ වුනා. ඒ නිසා අපිත් එක්ක හිටපු පිරිසත් ටිකක් විසිරිලා ගියා. ඒක ඉතින් සමහරවිට කර්මානුරූපව සිද්ධ වෙන්න ඇති.

අබේරත්න මහත්තය එදා මොනව හරි කිව්වම, මමත් ඒවාට යම් යම් තර්කවාද ඉදිරිපත් කළා. මම කියපු කාරණා වුනත් නිවැරදි නම් ඒවාට එතුමත් එකග වුනා. එහෙම අවංකකමක් තිබුනා. මේ නිර්මල බුදු දහම තේරුම් ගත්ත කෙනෙක් අනෙක් අය කරන දේවල්වලට, අන්‍ය ඇදහීම්වලට එරෙහි වෙන්න යන්නෙ නෑ. ඒකෙන් යම් කෙනෙකුට යහපතක් කර ගැනීමේ හැකියාවක් තිබුනොත්, ඒකට තව කෙනෙක් යොමු කරනව මිසක් අනෙක් ආගම් ප්‍රශ්නයක් වෙන්නෙ නෑ. ඉතින් මට කතෝලික දහම ප්‍රශ්නයක් වුනේ නෑ. අවංකවම, කතෝලික කටයුතුවලට වැඩිය බෞද්ධ කටයුතුවල තමයි මට යෙදෙන්න සිද්ධ වුනේ. එදා අබේරත්න මහත්තය ඇසුරු කරත්දි එතුමා මට කිව්වා, මට පැවිදි වෙන්නත් හේතු තියෙනව කියල. ඇත්ත වශයෙන්ම ඊට පස්සෙ එක්තරා නායක හාමුදුරුවො නමක් මාව පැවිදි කරගන්නත් හැදුවා. මම ඉතින් දැන් ප්‍රමාද වැඩියි කියල ඒකට ටිකක් අදිමදි කළා.

මගේ ළඟම ඥාති සහෝදරයා දැන් ඒ රටේ බිෂොප් කෙනෙක්. අපේ කාදිනල්තුමත් කියල තිබුනා, ලංකාව මෙච්චර ලස්සනට තිබුනෙත් බුදු සිරිත නිසා, ඒක නැති කරගන්න විනාස කරගන්න එපා කියල. ඇත්තටම පසුකාලීනව මහණ වුන අබේරත්න මහත්තයත් ඒ පෙර තිබ්බ්ච බුදු සිරිත තමයි හරියට මතු කළේ. උන්වහන්සේ අද හිටිය නම් තවත් යහපත් දේවල් හුගක් සිද්ධ වෙන්න තිබුනා."

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



කොට්ට පුළුං



ගංසූරිය



බෝලපනා



බකිණි

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 19

දුර්ලභව ලැබූ මනුස්ස අත්බවය වස විස ආදී ප්‍රයෝග විපත්තිවලින් අකාලයේ විනාස වෙන්න ඉඩ නොදී ආරක්ෂා කර ගැනීමේ අරමුණෙන්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු කාරණාත් ඇසුරු කරගෙන, වස විස ආහාරවලට එරෙහිව භාවිතා කරන්න පුළුවන් තවත් වටිනා දේශීය ආහාර වර්ග කිහිපයක් වර්තමාන සහ පශ්චිම ජනතාවගේ හිත සුව පිණිස මෙවරත් හඳුන්වා දෙනවා.

**කොට්ට පුළුං** – පාර තොටේ, ගමේ ගොඩේ හැමතැනම වගේ දකින්න පුළුවන් ශාකයක්. පුළුන් ගෙඩි මෝරල පිපිරිලා විසිරිලා ගියත්, කොට්ටයක් හදාගන්නවට අමතරව අද මේ පුළුං ගහෙන් ගන්න කිසිම ප්‍රයෝජනයක් නෑ. ඒ ගැන බොහෝ දෙනෙක් දන්නෙත් නෑ. මේ ගහේ තියෙන ඖෂධීය වටිනාකම නොදන්න නිසා, රට වටේට තියෙන කොට්ට පුළුං ගස් තොග පිටින් කපල ලෑලි හදන්න විකුණනවා. නමුත් හෙළ කිරණ වෙදකමේදී මේ පුළුං ගස සහමුලින්ම ඖෂධ සඳහා යොදා ගන්නවා.

ඖෂධීය ගුණ ගත්තොත්, තුන් දොස් සමනය කිරීමේ සුවිශේෂීය ගුණයෙන් යුක්තයි. පුළුං දළු සහ මල්වල අම්ල පිත්ත ප්‍රදාහය සුව කිරීමේ ශක්තියක් තියෙනවා. ඩිම්බ කෝෂවල, පැලෝපීය නාලයේ, ගර්භාෂයේ ආසාදන දුරු කිරීමේ සුවිශේෂීය ගුණයෙන් යුක්තයි. කාන්තාවන්ට ඇතිවන අක්‍රමවත් මාස් සුද්ධි ක්‍රියාවලිය ක්‍රමවත් කරනවා, වේදනා දුරු කරනවා. පුරුෂයන්ගේ අණ්ඩ කෝෂ ආසාදන දුරු කරනවා. කාන්තාවන්ගේ හෝ පුරුෂයන්ගේ මඳ සරු බව නිසා දරුඵල නැත්නම්, ළපටි පුළුං ගෙඩි නිරන්තරයෙන් ආහාරයට එකතු කර ගැනීමෙන් ඒ අසංකූලතාවයන් මග හරවගන්න පුළුවන්. ඒ වගේම ශරීරය අධික කෘෂ බවින් යුක්ත අයටත් ඒ තත්වය දුරු කරගන්න පුළුවන්. මළබද්ධය දුරු කිරීමේ සුවිශේෂීය ගුණයකුත් අන්තර්ගතයි.

ළපටි ගෙඩිවලට වඩා තරමක් මෝරපු පුළුං ගෙඩිවල සුදු පාට ඇට අරගෙන සාමාන්‍යයෙන් මුං ඇට මාළුවක් උයාගන්න ආකාරයට රසවත් ආහාරයක් වශයෙන් සකස් කරගන්න පුළුවන්. නැත්නම් ඇට තම්බල තෙම්පරාදු කරල ආහාරයට ගන්නත් පුළුවන්. ඒ වගේම හොඳට මෝරපු පුළුං ඇට හොඳින් වේළල කොටාගෙන පිට පොත්ත ඉවත් කරල, රාත්‍රියට පෙඟෙන්න දාල, උදේට තම්බගෙන ආහාරයට එකතු කරගන්න පුළුවන්. ළපටි පුළුං ගෙඩි හොඳින් හෝදල තැම්බෙන ප්‍රමාණයට කපාගෙන බණ්ඩක්ක ව්‍යංජනයක් වගේ හෝ තෙල් දමා බැදුමක් ආකාරයට හෝ සකස් කරගන්න පුළුවන්. ඒ ආකාරයටම මෝරපු පුළුං ඇට කොටාගෙන පොතු ඉවත් කරල පිටි බවට පත් කරගෙන අග්ගලා, පිට්ටු... ආදිය හදන්න පාවිච්චි කරන්න පුළුවන්. මෝරපු පුළුං ඇට රටකජු බදින ආකාරයට කබලෙ දාල පුච්චගෙන පොතු ඇරල ආහාරයට ගන්නත් පුළුවන්. ඒ වගේම ළපටි පුළුං දළු සාමාන්‍ය පලා සම්බෝලයක් ආකාරයට හෝ කොළ මැල්ලුමක් ආකාරයට හෝ තරමක් මෝරපු කොළත් එකතු කරල සාමාන්‍ය කැඳක් වශයෙන් හෝ පිළියෙල කරල ආහාරයට ගන්න පුළුවන්. පුළුං දළු, කොළ, ළපටි ගෙඩි ඉතාම රසවත්, ගුණදායක ව්‍යංජනයක්.

කොට්ට පුළුං මලත් ඖෂධ ගබඩාවක්. පුළුං මල් සාමාන්‍ය හතු ව්‍යංජනයක් පිළියෙල කරන ආකාරයට හෝ සාමාන්‍ය බැදුමක් ආකාරයට හෝ සකස් කරගන්න පුළුවන්. ඒ වගේම පුළුං මල් හොඳින් අව්වෙ දමා වේළල තියාගෙන, තමන්ට අවශ්‍ය වෙලාවට දුඹුරු සීනි ටිකක් උණු කරල එන සීනි ද්‍රාවණයත් එක්ක මිශ්‍ර කරල බැදගෙන රසවත් ගුණවත් අතුරුපසක් පිළියෙල කරගන්නත් පුළුවන්. එහෙම නැත්නම් පුළුං මල් බැදල ඒකට මිරිස් කුඩු සහ ලුණු කුඩු ටිකක් එකතු කරල හොඳින් කලවම් කරල සැර අතුරුපසක් විදිහටත් පිළියෙල කරගන්න පුළුවන්. ඒ වගේම වේළිච්ච මල් කුඩු කරල පොල්, සීනි, ලුණු එකතු කරල කොටාගෙන අග්ගලා විදිහට සකස් කරගෙන ආහාරයට ගන්න පුළුවන්. ඒ වගේම පුළුං පොහොට්ටුවත් සාමාන්‍ය කැඳක් හෝ බැදුමක් ආකාරයට සකස් කරගෙන ආහාරයට එකතු කරගන්න පුළුවන්.

සාමාන්‍ය ජීවිතයේදී ඇතිවන යම් යම් රෝගාබාධ සඳහාත් පුළුං ශාකය ඖෂධ වශයෙන් යොදා ගන්නා ආකාරයත් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් මතු කරල දීල තියෙනවා. **කනේ කලාඳුරු ගල්වීම නිසා හට ගන්නා ආසාදනවලට, කන ඇතුලෙ කුරුලෑ ඇතිවීම, කන් අගුල් වැටීම... ආදී** අවස්ථාවලදී, පොතු ඉවත් කරගත්ත

මෝරපු පුළුං ඇට කලං 6 යි, අමු කලාඳුරු අල කලං 6 යි, අමු නික කොළ කලං 12 යි සියල්ල හොඳින් කොටාගෙන එන මිශ්‍රණයට කොට්ට පොල් බෑයකුත් කොටාගෙන එකතු කරල මී තෙල්වලින් මලවගෙන පොට්ටනි බැඳල වණ්ඩුවේ තම්බගෙන උදේ, හවස 7.00 ට විතර කන වටා තවන්න. තැවිවට පසු ඒ ස්ථානයේ එළඟිතෙල් ගල්වන්න. දින 7 යි. ඒ කාල සීමාවේ නෑමෙන් වළකින්න. අවශ්‍ය නම් දවල් 12.00 ට පෙර උණු වතුරෙන් නාගන්න.

**අර්ශස් ගෙඩි, භගන්දරා රෝග, අධෝ මාර්ගය අවට කුරුලෑ, විසප්පු ආකාරයට ඇතිවන ගෙඩි ආදියට, හොඳින් මෝරපු පුළුං ගෙඩි 2 - 3 ක් උණු අළුපල්ලෙ පැයක් විතර තම්බගෙන, ඒ බරටම කරල් හැබ අරගෙන සියල්ල සහමුලින් කොටාගෙන පොට්ටනි බැඳල වණ්ඩුවේ තම්බගෙන අදාළ ස්ථානවල උදේ, හවස 7.00 ට විතර හෝ රාත්‍රියට නම් නින්දට පෙර තවන්න. තැව්වට පසු ඒ ස්ථානයේ එළඟිතෙල් ගල්වන්න. දින 7 යි.**

**ඒ වගේම යකඩ පාස්සනකොට එයින් පිට වෙන අධික ආලෝකය වැදීම නිසා ඇතිවන ඇස් ආබාධවලට, හම පිච්චීම නිසා ඇතිවන තුවාලවලට, අමු පුළුං මල් පෙති මිටක්, වියතකට වැඩිය දිග (අඟල් 9 ක් පමණ) ඒ බරටම කෝමාරිකා පිති කැබලි 1 යි, පුළුං මල් පෙති සහ කෝමාරිකා බරෙන් 1/10 ක් පමණ අමු කහ කැබලි 1 යි අරගෙන මේ සියල්ලම හොඳින් හෝදගෙන, කෝමාරිකා පිත්තෙ තියෙන මාංශමය කොටස විතරක් අරගෙන සියල්ල මිශ්‍රණ යන්ත්‍රයකින් හොඳින් කොටාගෙන ඒ එන මිශ්‍රණය පිච්චුන ස්ථානවල ආලේප කරන්න. ඇස් ඇතුලට නොයන සේ ඇස් වටෙත් ගල්වන්න. වරු 3 කින් පමණ සුව වෙනවා. තුවාලවලට සුව වෙනකල් ගල්වන්න. දින 7 කින් සම්පූර්ණ සුවය ලබන්න පුළුවන්.**

**පත්තෑයන්, ගෝනුස්සන්, මීමැස්සන්, බඹරුන්, දෙබරුන්... ආදී කෘමි සතුන්ගෙ දෂ්ට කිරීම් නිසා ඇතිවන විසට වේළිච්ච පුළුං ලෙලි කිහිපයක් පුච්චගෙන ඒ අළු එළඟිතෙල්වලින් අනාගෙන දෂ්ට කළ ස්ථානයේ ගල්වන්න. උදේ, දවල්, හවස වරු 3 යි.**

**නිදි උළුක්කුවලට, පුළුං කොට්ටයක් තද අව්වට දමා වේළගෙන රස්නෙ පිටින් උළුක්කු වූ ස්ථානයට හිටින සේ නිදාගන්න. විනාඩි 40 යි. දවසෙන් සුව වුනේ නැත්නම් පහුවදාත් ඒ විදිහටම කරන්න.**

ඒ වගේම මේ කොට්ට පුළුං යොදපු කොට්ටයක හෝ මෙට්ටයක නිදියනකොටත් කයට බොහොම සැහැල්ලුවක් සනීපයක් ලැබෙනවා. අපේ ශරීරයේ තියෙන විස කළු කිරණ මේ පුළුන් කොට්ටයට ඇදගෙන රඳවා ගන්නවා. සූර්යා නැගෙනකොට ඒ කළු කිරණ පරිසරයට මුදා හැරෙනවා. මේ පුළුංවලින් කොට්ටයක් හදල ඒක ඇතුලට පුළුං ඇට කිහිපයක් එකතු කරල කොට්ටය හිසට තියල පැය කිහිපයක් නිදාගන්නකොට මනසේ තියෙන අවිවේකී බව පහ වෙලා ගිහින් සන්සුන් මනසක් එක්ක අවදි වෙන්න පුළුවන්කම ලැබෙනවා. පුළුන් යහමින් තියේ නම් ඒවායින් මෙට්ටයක් හදාගෙන කයට දැනෙන පහසුව, සැහැල්ලුව අත්විඳල බලන්න. පුළුන් කොට්ටයක නියම ප්‍රතිඵල අත්විඳින්න නම් අඩුම තරමින් සතියකට සැරයක්වත් කොට්ටය අව්වට දැමිය යුතුයි. මෙට්ටයක් වුනත් එහෙමයි. ඊට වඩා වැඩි වාර ගණනක් අව්වට දාන්න පුළුවන් නම් වඩාත් හොඳයි. ඒ මගින් කේශනාලිකා උත්තේජනය වෙලා, හිසේ තියෙන කළු කිරණ උරාගෙන, හිස්හොරි, හිස කැසීම්, උදුගොව්වන් කෑම... ආදිය දුරු වෙනවා. මේ පුළුං කොට්ටයක, මෙට්ටයක නිදා ගැනීමෙන් අද බහුලව තියෙන ඉරුවාරදය, මානසික ආතතිය... ආදී රෝගී තත්වයන්ගෙන් සහනයක් ලබාගන්න පුළුවන්.

**ගංසූරිය** - විශේෂයෙන් වියළි කලාපයේ බහුලව හැදෙන රුස්ස ගස් වර්ගයක්. පත්‍ර බෝ කොළ හැඩයට තරමක් සමානයි. දැව වශයෙන් බොහොම වටිනා ශාකයක්. මොකද මේ ගහේ කඳින් හදන ලී ලේසියෙන් ගුල්ලො ගහන්නෙ නෑ, වැස්සට තෙමුන කියල දිරන්නෙ නෑ. ඒ නිසා පාලම්වලට, බර වාහනවල තට්ටු හදන්න යොදා ගන්නවා. ඒ වගේම නම්‍යශීලී බව වැඩි නිසා කරත්ත රෝදවල පට්ටම් ගහන්නත් යොදා ගන්නවා.

හෙළ වෙදකමේදී මේ ගහේ පස් පංගුවම ඖෂධ සඳහා යොදා ගන්නවා. කැඩුම් බිඳුම්, උළුක්කු, මස්පිඬු පෙරලීම්... ආදියට සහ වාත රෝග සඳහා බහුලව යොදා ගන්නවා. ගංසූරිය කොළ සාමාන්‍ය කොළ කැඳක් ආකාරයට සකස් කරගෙන පානය කිරීමෙන් අම්ල පිත්ත ප්‍රදාහය පාලනය කර ගන්න පුළුවන්. මළබද්ධය දුරු කරනවා. ඇට මිදුළු ශක්තිමත් කරනවා. නිරන්තරයෙන් ආහාරයට එකතු කර ගැනීමෙන් හන්දිපත් වේදනා, වාත වේදනා දුරු වෙනවා. ආතරයිටීස් රෝගීන්ටත් ඉතා ගුණදායකයි. හදිසි අනතුරු නිසා හට ගන්නා මස්පිඬු තැලීම්, උළුක්කු වීම්... ආදිය සඳහා ප්‍රත්‍යක්ෂ ඖෂධයක්.

**ගංසූරිය ගහේ පස් පංගුව සම බරින් අරගෙන හොඳින් කොටාගෙන නටවා නිවා ගත් උණු වතුර අඩු කෝප්ප 3/4 ක් විතර දමා මිරිකගෙන ඒ ඉස්මට සුළඟර තෙල් අවුන්සයක් (අඩු කෝප්ප 2 ක ඉස්ම සඳහා තෙල් අවුන්ස 1 යි) එකතු කරල කකාරවල, ඉදිමිලා තැලිල උළුක්කු වෙලා තියෙන තැන්වල හොඳින් ආලේප කිරීමෙන් සුව වෙනවා.**

ගංසූරිය කොළ, දළු සාමාන්‍ය කැඳක් සකස් කරන ආකාරයටත්, දළු මැල්ලුමක් හෝ පලා සම්බෝලයක් හෝ සාමාන්‍ය පලා ව්‍යංජනයක් ආකාරයටත් සකස් කරගෙන ආහාරයට එකතු කරගන්න පුළුවන්.

මේ තරම් වටිනා ඖෂධීය ගහක් අද දැව අවශ්‍යතාවලට කපල දාල තියෙන නිසා මේ වෙනකොට නාගරික පෙදෙස්වල දකින්න නොලැබෙන තරම්.

**බෝලපනා** - වැට මායිම්වල, පුරන් ඉඩම්වල, කුඩා වන ලැහැබවල, බඩවැටි, ඕවිටි... ආදී තැන්වල ස්වභාවිකව වැවෙන පඳුරු විශේෂයෙක්. අඩි 7 - 8 ක් උසට වැඩෙන, රඹුටන් කොළයට ආසන්න හැඩයෙන්, තරමක් ළා කොළ පැහැයෙන් යුත් දුරින් දුරින් පත්‍ර හට ගන්නා ශාකයක්. අධික සීත කලාපයේ හැර අනෙක් සියලු ප්‍රදේශවල දකින්න පුළුවන්.

මේ බෝලපනා පත්‍රවලටම ආවේණික විශේෂ සුවඳක් තියෙනවා. ඒ සුවඳ නිසා කෘමි විකර්ශක ශාකයක් විදිහටත් ක්‍රියා කරනවා. හේන්, එළවළු කොරටු ආදියේ පිට වැට මායිමට බෝලපනා හිටවීමෙන් වගාවට සිද්ධ වෙන කෘමි හානි අවම කරගන්න පුළුවන්.

හෙළ වෙදකමේදී අස්ථි, සන්ධිගත ආසාදන සඳහා නිරන්තරයෙන් යොදා ගන්නවා. ආතරයිටීස් රෝගීන්ට ඉතාමත් ගුණදායකයි. අස්ථි ශක්තිමත් කිරීමත්, ඇට මිදුළු වර්ධනය කිරීමත් සුවිශේෂීය ඖෂධීය ගුණයක්. ඒ වගේම අනතුරු නිසා සිද්ධ වෙන අස්ථි බිඳීම් නැවත සම්බන්ධ කිරීමේ සුවිශේෂීය ගුණයෙන් යුක්තයි. **සියලු සන්ධි වේදනා සහ ඉදිමුම් සඳහා ප්‍රත්‍යක්ෂ ඖෂධයක් බෝලපනාවලින් හදා ගන්න හැටි මේ විදිහට සඳහන් කරන්න පුළුවන්.**

**ජිල් බෝලයක් තරම් අමු කහ ගුලියක්, රන් තැඹිලි ලොඳ නැති**



# වකුගඩු අක්‍රිය වීම

## ඇතුළු තවත් රෝග රැසකට සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කර දුන්, රටම ගිල ගත් වකුගඩු අක්‍රිය වීමේ රෝගයට ප්‍රත්‍යක්‍ෂ බෙහෙත් වට්ටෝරු කිහිපයක් පසුගිය කලාප හතරෙන් (88, 89, 90, 91) විස්තරාත්මකව ඉදිරිපත් කළා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ වකුගඩු අක්‍රිය වීම ඇතුළු ඒ ආශ්‍රිත රෝගවලටත්, තවත් ප්‍රබල රෝග රැසකටත් ප්‍රත්‍ය වෙන, උන්වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කර දුන් තවත් ප්‍රබල ප්‍රත්‍යක්‍ෂ බෙහෙත් වට්ටෝරු කිහිපයක්.

මේ සඳහන් කරල තියෙන අමුද්‍රව්‍ය ප්‍රමාණයන් එක්තරා අනුපාතයකට සඳහන් කරල තියෙන නිසා, තමන්ට අවශ්‍ය පරිදි ඒ අනුපාතයම එන විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරගන්න පුළුවන්. ඒ අමුද්‍රව්‍ය සපයගන්න හැම අවස්ථාවකදිමත්, ඒ වගේම ඒ බෙහෙත් හදන අවස්ථාවලදිත් මේ සඟරාවෙන් මීට පෙරත් සඳහන් කරපු දැහැමි ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. ඒ මගින් ඖෂධවල ගැබ් වන ශක්තිය වැඩි වෙලා වඩාත් සාර්ථක ප්‍රතිඵල ලබා ගන්න

---

**ඇට්ටියක වතුර පත 1 1/2 කට දිය කරගෙන, බෝලපනා සහමුලින්ම කිලෝ 2 ක් විතර කොටාගෙන ඒ දියෙන් මිරිකගෙන පෙරාගන්න. ඒ මිශ්‍රණයට වියළි රත් හඳුන් කුඩු කලං 6 යි, වියළි ඉඟුරු කුඩු කලං 6 යි, වියළි අබ කුඩු කලං 6 යි, කපුරු තෙල් අවුන්සයයි එකතු කරල සියල්ලම කබලකට දාල ලිපේ තියල කාල් ගාල චූර්ණ පදමට ආවට පසු බාගන්න. දවසට වරක් උදේ වරුවෙ 7.00 ට පමණ වේදනා තියෙන සන්ධිවල සහ ඉදිමුම් ඇති ස්ථානවල ආලේප කරන්න. දවල් 12.00 ට පෙර උණු දියෙන් සෝදන්න. බෙහෙත ගල්වන කාලය තුල ඇල් වතුර නෑම අගුණයි. උණු වතුරෙන් පමණක් දවල් 12.00 ට පෙර නාගන්න පුළුවන්.** දින 7 ක් හෝ සුව වෙනකල් ගල්වන්න.

බෝලපනා කොළ, දළු සාමාන්‍ය කැඳක් ආකාරයටත්, දළු සම්බෝලයක් ආකාරයටත් සකස් කරගෙන ආහාරයට ගන්න පුළුවන්. ඒ වගේම කොළ අව්වෙ දාල තව් මැරුනට පස්සෙ ලුණු දියේ දාල බැදුමක් ආකාරයටත් සකස් කරගන්න පුළුවන්.

**බකිණි** - දෙපා ඉවුරු, නියරවල්, ලඳු කැළෑ වගේ තෙත් බිම් සහිත ස්ථානවල බහුලව දකින්න පුළුවන් රූස්ස ගහක්. සාහිත්‍යකරුවන්ගේ ජනාදරයට පත් වෙච්ච, සිංහල අවුරුදු කාලයේ විශේෂයෙන් එල දරන, ඉතා වටිනා රසවත් ආහාරයක්, ඖෂධයක් වුනත් කවුරුවත් මේවායින් ප්‍රයෝජනයක් ගන්නෙ නෑ. ආහාරයක් වශයෙන් සකස් කරගන්න හැටි දන්නෙත් නෑ. ඖෂධීය වටිනාකම දන්නෙත් නෑ. ඒ නිසා වටිනා ආහාරයක්, ඖෂධයක් නිරපරාදේ අපතෙ යනවා.

ඖෂධීය වටිනාකම ගත්තොත්, තුන් දොස් සමනය කරනවා. ශරීරය සැහැල්ලු කරනවා. අපත්‍ය දෑ ශරීරයෙන් බැහැර කරනවා. ආහාර ජීර්ණය පහසු කරවනවා. ඉන්ද්‍රියන්ගේ පටල, සිවි වේළීම වළකනවා. ස්නායු උත්තේජනය කරනවා. නහර තුල ලේ කැටි ගැසීම වළක්වනවා.

ළපටි බකිණි ගෙඩි තලනබටු, තුඹ කරවිල වගේ ව්‍යංජනයක් ලෙසත්, දළු කොළ කැඳක් ලෙසත් සාමාන්‍යයෙන් සකස් කරන ආකාරයට පිළියෙල කරගන්න පුළුවන්. ළපටි බකිණි ගෙඩි උණු දියේ දාල තම්බගෙන දිය ඉවත් කරල සාමාන්‍ය බැදුමක් සකස් කරන ආකාරයට හෝ දළු සාමාන්‍ය එළවළුවක් ආකාරයට හෝ සකස් කරල ආහාරයට එක් කරගන්න පුළුවන්. **බකිණි ගෙඩි උණු අළුපල්ලෙ දමා තම්බගෙන, අමු කහ සමග අඹරගෙන, එළඟි තෙල් ටිකක් එකතු කරල කකාරවල ගැල්වීමෙන් විලුඹ පැළීම්, ඇඟිලිකරු පැළීම්... ආදිය සුව කරගන්න පුළුවන්.**

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

පුළුවන්. **පින්වතුන්ගේ පහසුව පිණිස මේ ප්‍රබල බෙහෙත් වර්ග බොහොමයක් දැනටමත් නිෂ්පාදනය කරල, වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය මුල් කරගෙන පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සලසල තියෙනවා.**

ඒ වගේම **විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, මේ වගේ ප්‍රබල රෝගවලට කර්ම විපාකත් මුල් වෙන නිසා ඒවාට බෙහෙත් කරන්න පෙර, ඒ කර්ම වේග යම් පමණකට හෝ ගෙවා හරින්න මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන සාසනික ප්‍රතිකර්ම අනුගමනය කරන්න** (විශේෂයෙන් 27, 28, 29, 39, 55, 83, 86 කලාප). එහෙම නැත්නම් ඒ බේත් හරියට ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාම තමයි හට ගන්නෙ. ඒ විදිහට අනන්ත සසරෙ පටන් තෙරුවන් ඇතුළු ගුණ වඩපු උත්තමයින්ටත්, අන්‍ය සත්වයින්ටත් වෙච්ච අවැඩ අසාධාරණවලට විපාක විදිහට එන කර්මවේගවලට සාසනික ප්‍රතිකර්ම අනුගමනය නොකරන අයට මේ ප්‍රබල බේත් වර්ග හදල දෙන්න යෑමෙන් වළකින්න. මොකද නැත්නම් අනුන්ගෙ කර්මවේගවලට කරගහන්න ගිහින් ඒ අයගෙ කර්ම දෝසවල බලපෑම් තමන්ටත් එන්න පුළුවන්.

ඒ වගේම විශේෂයෙන් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ දැනටත් පසළොස්වක, අමාවක පොහොය දිනවල විශේෂ පුණ්‍යානුමෝදනාවත්, හැම මාසයකම 1 වෙනි සහ 3 වෙනි සෙනසුරාදා දිනවල විශේෂ ආශිර්වාද පූජාව සහ විශේෂ පුණ්‍යානුමෝදනාවත් සිද්ධ කෙරෙන නිසා, ඒවාට සහසම්බන්ධ වීමෙනුත් ඒ කර්ම දෝස යම් පමණකට හෝ ගෙවාගෙන යහපත් ශක්තියක් ගොඩනගා ගන්න පුළුවන්. එහෙම නැත්නම් ඒ ආකාරයේ විශේෂ පුණ්‍යානුමෝදනා, ආශිර්වාද පූජා, ආර්ය මෙත් වැඩීම්... ආදිය සිද්ධ කෙරෙන පූජනීය ස්ථානවලට සම්බන්ධ වෙලා ඒ පුණ්‍ය ශක්තිය ගොඩනගා ගන්න. ඒ නිසා මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන හේතු ඵල දහම අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කළ යුතුයි. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බේතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න.

## ගොරක අරිෂ්ටය

කිරණ වෙදකමේ එන ප්‍රධාන බෙහෙත් අතරින් තවත් සුවිශේෂීය අරිෂ්ටයක්. මොකද වස විස ආදී ප්‍රයෝග විපත්ති නිසාත්, අමනුස්ස දෝස, ඉනා බන්ධන, කොඩිවින, හදි හූනියම්... ආදිය නිසාත් කයට බැඳිල තියෙන අපද්‍රව්‍ය ඉවත් කරන්නත්, ඒ අනුසාරයෙන් හට ගත් සියලු කායික මානසික ව්‍යාධි දුරු කරන්නත් මේ අරිෂ්ටය ප්‍රධාන වශයෙන් ප්‍රත්‍ය වෙනවා. මේ මගින් තුන් දොස් සමනය කරමින් ශරීරයේ සියලු පද්ධති බලගන්වල, ඒ පද්ධති අක්‍රිය කරන්න මුල් වෙච්ච සියලු භෞතික හේතු ක්‍රමානුකූලව දුරු කරල, ශරීරයේ කළු විස කිරණවලින් කහට ගැන්විච්ච තැන් දවා හැරල, ඒ තුල ගැබ් වෙලා ඉන්න අමනුස්සයින් පලවා හැරල, කිරණ කය 75% ක් පමණ යථා තත්වයට පත් කරනවා. හැබැයි මේ කාරණය ඒ ඒ පුද්ගලයන්ගෙ අමනුස්ස බන්ධනවල ප්‍රබලත්වය අනුවත්, ඒ වගේම කර්මවේග ගෙවා හරින සාසනික ප්‍රතිකර්ම කිරීම / නොකිරීම අනුවත් වෙනස් වෙන්න පුළුවන්.

ලෝකයේ ජීවත් වෙන ඕනෑම පුද්ගලයෙකුට තමන්ගෙ ජීවිත කාලය තුලදී සෙනසුරු කියන දසාවක් අනිවාර්යෙන්ම එනවා. ඒ දසාව අඩුම තරමින් අවුරුදු හතහමාරක්වත් බලපවත්වනවා. ඒ ඒ පුද්ගලයන්ගේ සංසාරගත කර්ම ශක්තියට අනුව ඒ කාලය මීට වඩා වැඩි වෙන්නත් පුළුවන්. මෙන්න මේ කාලය තුල ඒ දසාව ගෙවන අයට සෙනසුරු ග්‍රහයා මුල් කරගෙන, සසරෙ ගෙනාපු කර්ම වේගයන්ට අනුකූලව ලෙඩ රෝග ඇතුළු නොයෙක් විපාකයන්ට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. ලෞකික වශයෙන් විවිධ කරදර බාධක එන්න පටන් ගන්නවා. සිත් වේදනා, නඩුහබවලට පැටලීම්, නිදන්ගත රෝගාබාධ, අණවිණ කොඩිවින, හදි හූනියම්, ඉනා බන්ධන, අමනුස්සයන් ශරීරයට අරක් ගැනීම සහ ඒ තුලින් නොයෙක් කායික මානසික විකෘතීන් ඇති වීම, ස්නායු නහර තද වීම මගින් දත්ත සම්ප්‍රේෂණය නිසියාකාරව සිදු නොවීම, ලේ නහර අවහිර වීම තුලින් ශරීරයේ යම් යම් පද්ධති අක්‍රිය වෙලා, ඒ තුල තියෙන අපද්‍රව්‍ය වැඩි වීම තුලින් නොපෙනෙන ලෝකයෙන් බලපෑම් එන්න පුළුවන්.

කර්ම විපාක මුල් කරගෙන එන මෙන්න මේ වගේ ආබාධවලට මේ සඟරාවේ මීට පෙරත් විස්තර කරල තියෙන සාසනික ප්‍රතිකර්ම කරන ගමන්, භෞතික කයට රෝගයක් වැළඳිලා තියෙනව නම් ඒ සඳහා බෙහෙත් ඖෂධ ලබා ගත යුතුයි. මෙන්න මේ වගේ අවස්ථාවක **පෙනෙන නොපෙනෙන බලවේගයන්/භෞතිකක්‍රියාකාරීත්වයන් එකම බේතකින් සමනය කරන ක්‍රමයක් තමයි මේ අරිෂ්ටය.**

<u>අවශ්‍ය අමුද්‍රව්‍ය</u> :-

1. ගොරක ගහේ පස් පංගුව (කොළ, මුල්, ගෙඩි සහමුලින්ම, පොතු, මල්) ග්‍රෑම් 500 බැගින් (මල් නැත්නම් දළු ගන්න)
2. කුඩලු දෙහි, ඇඹුල් දොඩම්, නස්නාරං, හීන් නාරං, දෙහි යන පැඟිරි ගස්වල පස් පංගුව (කොළ, මුල්, ගෙඩි, පොතු, මල්) එක පංගුවකින් ග්‍රෑම් 100 බැගින් සියල්ල කිලෝ 2 1/2
3. බේත් එඬරු ගහේ පස් පංගුව එකකින් ග්‍රෑම් 100 බැගින්
4. තැඹිලි මුල් ග්‍රෑම් 500 යි
5. පුවක් මුල් ග්‍රෑම් 500 යි
6. බෙලි කොළ ග්‍රෑම් 500 යි (මේ සියල්ලම අමු බරින් ගන්න.)

   මේ සියල්ලම හොඳින් කොටාගෙන හොඳින් නටවා නිවා ගත් උණු වතුර බෝතල් 35 ක් දමා 28 ට හිඳගෙන හොඳින් පෙරාගන්න. ඒ මිශ්‍රණයට,

7. වතුර නොදා සකස් කර ගත් කළු උක් ඉස්ම බෝතල් 1 යි මිලි ලීටර් 125 ක් හෙවත් 1 1/8 යි
8. අරළු කුඩු ග්‍රෑම් 500 යි
9. සෙනෙහෙ කොළ කුඩු ග්‍රෑම් 500 යි
10. අමුක්කරා කුඩු ග්‍රෑම් 500 යි
11. රන්වන් පාටට බැදගත් උලුහාල් කුඩු ග්‍රෑම් 500 යි
12. කුරුඳු පොතු කුඩු ග්‍රෑම් 500 යි
13. හොඳින් නටවා නිවා ගත් උණු වතුර බෝතල් 30 යි
14. සුදු සූකිරි කිලෝ 4 යි ග්‍රෑම් 800 යි
15. තල් සූකිරි කිලෝ 4 යි ග්‍රෑම් 800 යි

මේ සියල්ල එකතු කරල හොඳින් දිය කරල කනක්කයක හෝ සුදුසු මැටි භාජනයක දින 21 ක් තියල අරිෂ්ට කරගන්න. දින 21 න් පසු හොඳින් මිරිකල පෙරාගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 2 බැගින් මාස 1 යි දින 21 ක් දීම ප්‍රමාණවත්. 88 කලාපයෙන් සඳහන් කළ (41 කලාපයේ විස්තරාත්මකව පළ වූ) විරේක පාන් චූර්ණය ගන්නකොටම මේ බේතත් දීම ඉතා යෝග්‍යයි. පසුගිය 88 කලාපයෙන් සඳහන් කළ කෘමි රෝග සඳහා වන නයි පොළොං හබරලවලට පුවක්බොඩ ඉස්ම මිශ්‍ර කරල හදා ගන්න බේත, පොල් දෙළුම් චූර්ණය සහ 89 කලාපයේ සඳහන් (ඔඩුවන සමන) අරිෂ්ටයත් මූලික ඖෂධ වශයෙන් මේ අරිෂ්ටයට පෙර දින 21 ක් පමණ දීම තමයි වඩාත් සුදුසු. මොකද ඒ මූලික ඖෂධවලින් තමයි අනෙකුත් ඖෂධ ප්‍රත්‍ය වෙන්න අවශ්‍ය පරිසරය සකස් කරල සුද්ධ පවිත්‍ර කරල දෙන්නෙ. නමුත් රෝගී තත්ත්වය අසාධ්‍ය නම් සති තුනක් කල්ගත කිරීම සුදුසු නොවන නිසා අවස්ථානුකූලව ඒ මූලික බෙහෙත් වර්ග නැතුව ගොරකා අරිෂ්ටය විතරක් දුන්නට ගැටළුවක් නෑ.

මේ මගින් ආහාර ජීර්ණ පද්ධතියේ බැඳිල තියෙන සියලු අපද්‍රව්‍ය, කාරම්, කළු කිරණ සුද්ධ වෙනවා. අපද්‍රව්‍ය විරේක වෙලා යනකොට බෙහෙත නතර කරන්න එපා. සියලු අපද්‍රව්‍ය පිට වෙලා යනකල් ක්‍රමානුකූලව විරේක වෙලා ප්‍රබල විරේකයක් සිද්ධ වෙන්න පුළුවන් නිසා බය වෙන්න අවශ්‍ය නෑ. ශරීරයට කිසි වේදනාවක් අපහසුවක් නෑ. ප්‍රබල විරේකයක් සිද්ධ වුනාට පසු නැවත බෙහෙත් ගන්න අවශ්‍ය නෑ. මේ කාලය තුල විශේෂයෙන් ආහාරවලින් පරිස්සම් වීමක් අවශ්‍ය වෙන්නෙත් නෑ. වාර 10 - 15 ක් හෝ ඊට වැඩි ගණනක් විරේක වෙලා නවතිනවා. ඒ මගින් **සියලු අපද්‍රව්‍ය, අමනුස්ස ගුහා, පිළිකා හෝ වෙනත් රෝගවලට බලපෑ මොනවහරි අපද්‍රව්‍ය තියේ නම් ඒ සියල්ල ඉවත් වෙනවා.**

ඒත් එක්කම මුත්‍රා පිටවීමත් වැඩිවෙන්න පුළුවන්. ඒක රෝගී තත්වය උත්සන්න වීමක් හෝ බෙහෙත්වල අතුරු ආබාධයක් නිසා හෝ සිද්ධ වෙන දෙයක් නෙවෙයි, බෙහෙතේ නියම ක්‍රියාකාරීත්වය සිද්ධ වෙන බවට ලක්‍ෂණයක්.

**මේ මගින් වස විස කැවීමෙන් සහ පිටියුටරි ග්‍රන්ථියේ ක්‍රියාකාරීත්වය අක්‍රමවත්වීමෙන්හටගන්නාදියවැඩියාව, වකුගඩු ආබාධ, නොයෙක් ආකාරයෙන් ශරීරගත වූ වස විස, ඉනා අජීර්ණ, යක්ෂ අජීර්ණ නිසා හට ගත් සියලු කායික මානසික ආබාධ, ඒ වගේම රූපයට කටු ගසා කිරණ කය ගැට ගැසීම් ආදියක් ඇත්නම් ඉහත සඳහන් කළ සාසනික ප්‍රතිකර්මවලට සහ කර්ම ශක්තීන්ට යටත්ව ඒ සියල්ලත් මේ අරිෂ්ටයෙන් දුරු වෙනවා. වා පිත් සෙම් නිසා වූ සියලු ආබාධ, ඉරුවාරදය මුල් කරගත් ශීර්ෂ රෝග සුව වෙනවා. අධික තරබාරු බව අඩු වෙනවා. හිසේ ආබාධ, ගෙඩි, වණ, හොරි, දද, කඩුවේගන් සුව වෙනවා. අද සමාජයේ බොහෝ දෙනෙක් පීඩා විඳින ආතරයිටීස් ඇතුළු හන්දිපත් වේදනා සුව වෙනවා. මොලේ ආබාධ, සියලු උන්මාද රෝග, මීමැස්මොරය (ෆිට් එක) සුව වෙනවා. ශරීරයේ අභ්‍යන්තරව, බාහිරව හට ගන්නා සියලු ගෙඩි, වණ, තුවාල සුව වෙනවා.** සමහර විට දද, කුෂ්ට වැඩි වන සේ දැනුනත්, දින 7 කින් සියල්ල සමනය වෙනවා. තවත් ප්‍රතිකර්ම කරන්න තරම් ඉතිරි වෙන්නෙ 10% ක් තරම් ආබාධ ප්‍රමාණයක්. **වකුගඩු ආබාධ, ගර්භාෂ රෝග, ප්‍රවේණිගත රෝග විදිහට සැළකෙන පොතු කබර, සුදු කබර සුව වෙනවා.** ඒ වගේම අධික සෙම් ආබාධ, හෘද රෝග, වස විස, විකිරණ හෝ වෙනත් රසායන ද්‍රව්‍ය නිසා ඇතිවෙන පෙණහලු, ශ්වසන ආබාධ සහ බඩේ වතුර පිරීම... ආදී රෝගවලටත් විශේෂයි. **ලේ පිළිකා, ගර්භාෂ පිළිකා, ඇටමිදුළු පිළිකා, මොළේ පිළිකා ඇතුළු සියලු පිළිකාවලටත් ප්‍රත්‍ය වෙනවා.**

**මොළයේ නහර පිපිරීම් නිසා හට ගන්නා සියලු ආබාධ, ලේ කැටි ඇතිවීම, නහර කුඩා වීම, නහර තුල මේදය තැන්පත් වීමෙන් හට ගන්නා ආබාධ, අමනුස්සයන් ශරීරගත වීම නිසා හට ගන්නා ගෙඩි පිළිකා, තෙල් ගෙඩි, ගර්භාෂ ගෙඩි, අධික මත්පැන් පානය නිසා හට ගන්නා අක්මාව දිය වීම, අකර්මණ්‍ය වීම, ඉදිමීම මේ මගින් සමනය කරනවා.** ඒ වගේම ලේ විස වීම නිසා හට ගන්නා විසප්පු ගෙඩි, කුඩා ළමුන්ගේ ඇස්වහ බිබිලි, කුරුළෑ, අළුහම්, ඇස් යට කළු වීම, කළු ළප... ආදියත් දුරු කරනවා.

මෙසා විසාල රෝග සංඛ්‍යාවක් සුව කරන මිල කරන්න බැරි වටිනා අරිෂ්ටයක් තමයි කිසිම සැඟවීමකින් තොරව මේ විදිහට හෙළිදරව් කළේ. මේ අරිෂ්ටය කොටස් දෙකකට සකස් කෙරෙන්නෙ. පළමු කොටසින් සුදු කිරණ ඇති කරන්නත්, දෙවන කොටසින් කළු කිරණ ඉවත් කරන්නත් හේතු වෙනවා. කොටස් දෙකම එකට එකතු වුනාට පස්සෙ ඖෂධයක තියෙන ගුණ 8 ම එකට සම්බන්ධ වෙලා සුදු කිරණ ගුලියක් ආකාරයට ගොඩ නැගෙනවා. මේ අරිෂ්ටය ශරීරයට ඇතුල් වෙච්ච වහාම, අඳුරු කාමරයක් තුල පහනක් පත්තු කළාම ආලෝක වෙනව වගේ මුළු කිරණ කයම ආලෝක ගුලියක්, කිරණ කදම්බයක් ආකාරයට දීප්තිමත් කරනවා.

**මේ අරිෂ්ටය ශරීරගත වුනාට පසු පැය 10 ක් පමණ ඖෂධයේ ශක්තියෙන්, කාමරයක් තුල පහනක් දැල්වුවාට පසු තෙල් ඉවර වෙනකල් පහන දැල්වෙනව වගේ පැය 10 ක් විතර කළු කිරණ දවා හරිමින් සුදු කිරණ විතරක් කය වටා ඒකරාශී කරගෙන සුද්ධ ශක්තීන් තමන් වටා අද්දවා ගන්නවා.** ඒ සුදු කිරණ අමනුස්සයන්ට අගුණයි. පිච්චෙන්න ගන්නවා. ඒ නිසා උන් වහාම ශරීරයෙන් ඉවත් වෙනවා. දුරට වෙලා බලාගෙන ඉඳල නැවත කයට ඇතුල් වෙන්න ක්‍රමයක් හොයනවා. ඒත් දිනපතා බෙහෙත් ගන්නකොට මොන විදිහකින්වත් නැවත ඒ ශරීරයට ඇතුල් වෙන්න ක්‍රමයක් නැතිව යනවා.

ඒත් සමගම උන් අරක්ගෙන හිටපු ගෙඩි, වණ, පිළිකා... ආදී ඔවුන්ට තවදුරටත් රැඳෙන්න පුළුවන් වාසස්ථාන අහිමි වෙලා, ඒ සියල්ල මහ බඩවැල කරා අද්දවල මළ සහ මුත්‍රා මගින් පිට කරනවා. බෙහෙත් බොන වාරයක් වාරයක් පාසා, කාමරයක් තුල දැල්වෙන පහනට තෙල් දමා නිවෙන්නෙ නැතිව අඳුර දුරලනව වගේ, කයත් ඒ ආකාරයෙන්ම සුදු කිරණ උරාගෙන කළු කිරණ දවා හරිනවා.

දද, කුෂ්ට, වණ... ආදී තුවාල සුව නොවෙන්න එක හේතුවක් තමයි ඒවායෙන් නිකුත් වන කුණු ලේ, සැරව... ආදිය ආහාර කරගෙන ජීවත් වෙන ප්‍රේත අමනුස්ස කොටස් ඒ වටා ඉඳගෙන ලෙවකෑම. එතකොට තුවාලය වැඩි වෙනවා. මේ අරිෂ්ටයෙන් එන සුදු කිරණ ශක්තිය නිසා අමනුස්සයින්ට කයට ළං වෙන්න බැරි වෙනවා. ඒ ඇතිවන තත්වය දුරු වීමෙන් තුවාල සුව වෙන්න ගන්නවා.

## කාය විස හරණ අරිෂ්ටය

අමු රුක්අත්තන පස් පංගුව ග්‍රෑම් 500 බැගින්, අමු නෙල්ලි පස් පංගුව ග්‍රෑම් 100 බැගින්, අමු දෙහි පස් පංගුව ග්‍රෑම් 200 බැගින්, අමු සුදු ළූණු ග්‍රෑම් 500 යි, අමු බිම් පොල් ගෙඩි ග්‍රෑම් 500 යි.

මේ සියල්ල කොටාගෙන වතුර බෝතල් 25 ක් දමා 20 ට හිඳගෙන පෙරාගෙන ඒකට තලපිති ඉස්ම ලීටර් 2 ක් දමා සුදුරු ග්‍රෑම් 100 ක කුඩු, මහදුරු ග්‍රෑම් 100 ක කුඩු, කළුදුරු ග්‍රෑම් 100 ක කුඩු, නිවා ගත් උණු වතුර බෝතල්

3.6 ක්, තල් සූකිරි කිලෝ 2.5 ක්, පිරිසිදු කිතුල් පැණි බෝතල් 1.7 ක් දමන්න. මේ සියල්ල දින 21 ක් තියල අරිෂ්ට කරගන්න.

ඕනෑම සර්ප හෝ කෘමි විසක් හෝ මදුරු විස, හෝහපුටු විස, මී විස උණ හෝ ඕනෑම වස විසක් කැවුන අයට විස අධික නම් පැය 4 න් 4 ට මුල් සතියත්, පැය 6 න් හයට දෙවන සතියත් දෙන්න. ඉන්පසු පැය 8 න් 8 ට උදේ, දවල්, රෑ තුන් වතාවක් දීම ප්‍රමාණවත්.

ඉහත කී ඕනෑම කල් ගිය විසක් සඳහා උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි 2 බැගින් මාස 1 1/2 ක් දෙන්න. විස සහමුලින්ම දුරු වෙලා නිරෝගී වෙනවා. මොළේට විස වැදිල තියේ නම් මීට පෙර 71 කලාපයේ සඳහන් කළ කහ නිල් උණ පැණිය පැය 4 න් 4 ට පස් වතාවක් දීල සාමාන්‍ය උණ පැණිය දවස් 21 ක් පැය 8 න් 8 ට හෝ දවසකට 3 වරක් හෝ දෙන්න. මොළේ මැලේරියාවත් සුව වෙනවා.

**ඕනෑම විසක් නිසා හට ගත් දියවැඩියාව, වකුගඩු ආබාධ, ඇස් අන්ධ වීම, කන් බිහිරි වීම, මොළේ නහර පිපිරීමෙන් වන ලේ ගැලීම, දද, කුෂ්ට, ආමාශයේ, මුඛයේ, බඩවැල්වල තුවාල... ආදී සියලු ආබාධ නිට්ටාවට සුව වෙනවා. අක්මාව ඇතුළු ඇලදිවේ සියලු ආබාධ සුව වෙලා ප්‍රකෘතිමත් වෙනවා. හදවතේ ක්‍රියාකාරීත්වය ප්‍රකෘතිමත් වෙනවා. අසාධ්‍ය නොවූ හීමොෆීලියාව සහ මස් දිය වෙලා ශරීරය දුබල වීමේ ආබාධය සුව වෙනවා.**

## හිරකාරම් විරේක ගුලි

<u>අවශ්‍ය අමුද්‍රව්‍ය</u> :- වියළි ඇත්තෝර මල් හෝ ඇට, සහිඳ ලුණු, ලිපේ අළු, රත් හඳුන් කුඩු, අරළු කුඩු, බුලු කුඩු, නෙල්ලි කුඩු. මේ හැම එකකින්ම ග්‍රෑම් 50 බැගින්. ඊට අමතරව වතුර නොදා සකස් කර ගත් දිය තිප්පිලි ඉස්ම මිලි ලීටර 75 යි, ඇත්තෝර කොළ ඉස්ම මිලි ලීටර 150 යි.

ඉහත අමුද්‍රව්‍ය කොටාගෙන හෝ අඹරගෙන කුඩු කරගෙන දියතිප්පිලි ඉස්ම මිලි ලීටර 75 යි, ඇත්තෝර කොළ ඉස්ම මිලි ලීටර 150 යි එකතු කරල අනාගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරගෙන වේළගන්න. සතියකට දවසක් හෝ දවස් දෙකක් උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් අරගෙන වතුර ටිකක් බොන්න. විරේක වීම වැඩි අය දවසකට වරක් හෝ දෙවරක් සුදුසු පරිදි ගන්න.

මේ මගින් බඩවැලේ අපද්‍රව්‍ය නිසා වැහිල තියෙන බහිස්‍රාවී නාල පද්ධතිය සුද්ධ වෙලා ප්‍රකෘතිමත් වෙනවා. ආහාර දිරවීමේ, පෝෂණ පදාර්ථ ගෙනියන පද්ධති ක්‍රියාත්මක වෙනවා. රුධිරගත කාරම් අපද්‍රව්‍ය ඉවත් වෙනවා. ඝන කොටස අසූචියට ගෙනියනවා. එතකොට වකුගඩු නිදහසේ ක්‍රියාත්මක වෙනවා. **අධි රුධිර පීඩනය, වකුගඩු ආබාධ සුව වෙනවා. අංශභාග, පිළිකා, දියවැඩියා, ආතරයිටීස්, සෙම් ආබාධ, පිත් උෂ්ණ ආබාධ සුවයට මහෝපකාරී වෙනවා.** කාන්තාවන්ගේ මාස් සුද්ධි ආබාධ සුව වෙනවා. **තරබාරු බව දුරු වෙලා ශරීරය ක්‍රමානුකූල වෙනවා.** පුරස්ථි ග්‍රන්ථි ආබාධ, අණ්ඩ වායු, ඩිම්බ ආශ්‍රිත ආබාධ සුව වෙනවා.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 92 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

<u>ශ්‍රම දයකත්වය</u>

■ පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි ■ පූජ්‍ය මොරගොල්ලේ ඉන්දසුමන හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා - පොල්ගහවෙල ■ පරලෝ සැපත් ජී. පී. වීරසේන පතිරණ මහතා - නාවාන, මීරිගම ■ චමීර රත්නායක මහතා - ඇඹුල්දෙනිය ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - ගංගොඩවිල ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

<u>මූල්‍යමය දයකත්වය</u>

■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, සෙලෝමි දයාප්‍රේම දුව, මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 35,000/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රු ද සිල්වා දුව - දෝහාකටාර් - රු. 25,637/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තිළිණ විජේරත්න මහතා සහ පවිත්‍රා දූදිගම මහත්මිය - ඇමරිකාව - රු. 23,250/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ චතුරිකා මුණසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - කෑගල්ල - රු. 15,000/- ■ සමන්ත දියෝගබදු මහතා, ගයනි ජයවර්ධන මහත්මිය, නිම්හාන් දියෝගබදු පුතා, ඩිලාරා දියෝගබදු දුව - ඩුබායි, ඒ. ඩී. කේ. පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය, අකීෂා සමරවීර දුව, අශෝක ජයවර්ධන මහතා සහ චමිලා වික්‍රමආරච්චි මහත්මිය - නුගේගොඩ - රු. 11,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 8,600/- ■ ළහිරු සමරවික්‍රම මහතා - බොරැල්ල - රු. 8,000/- ■ ගමගේ පද්මිණී විජයලතා මහත්මිය, ලසන්ත නිරෝෂන් ජයවර්ධන මහතා සහ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 7,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ වසන්ත දයාරත්න මහතා සහ රසිකා ඩයස් මහත්මිය - කඩුවෙල - රු. 5,000/- ■ දුලානි සන්ධ්‍යා කුමාරි මහත්මිය - ඊශ්‍රායලය, පී. ඒ. ලීලාවතී මහත්මිය, දුමින්ද උදය කුමාර මහතා - නිකවැරටිය - රු. 5,000/- ■ චාමර මධුසංක මහතා, නදීරා ගලගෙදර මහත්මිය, යෙසඳි බිමංසා දුව - පිළියන්දල - රු. 5,000/-

■ යශෝධන අබේගුණවර්ධන මහතා - මහනුවර - රු. 5,000/- ■ ධනුෂි අබේගුණවර්ධන මහත්මිය - මහනුවර - රු. 5,000/- ■ වෛද්‍ය සංජීව මලින්ද මහතා, වෛද්‍ය ඉසුරු ගනේආරච්චි මහත්මිය, දහම්යා විදුසිනී දුව - කිරිබත්ගොඩ - රු. 5,000/- ■ නිමල් ජයසිරි මහතා ඇතුළු පවුලේ සැම - බණ්ඩාරගම - රු. 5,000/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 4,300/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, රුවන් සමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර, අශෝක ජයසේකර මහතා සහ චන්ද්‍රා ජයසේකර මහත්මිය - මාතලේ, සසික රත්නායක මහතා ඇතුළු පවුලේ සැම - ගාල්ල, සුමුදු විද්‍යාලංකාර මහතා ඇතුළු පවුලේ සැම - රද්දොළුගම - රු. 4,000/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,450/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කවින්ද්‍යා සේනානායක මහත්මිය - ඇමරිකාව - රු. 3,450/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාශා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 3,450/- ■ අසේල දික්කුඹුර මහතා - ඇමරිකාව - රු. 3,450/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පිරිස - තිහාරිය - රු. 3,000/- ■ එම්. යූ. තඹවිට මහතා, සජීවා කොඩිතුවක්කු මහත්මිය ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,917/- ■ විමුක්ති සෙනෙවිරත්න මහතා සහ ජයමිණි ජයවර්ධන මහත්මිය - ඇමරිකාව - රු. 2,600/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ දිනේෂ ලියනගේ මහතා, ඔල්ගා ලියනගේ මහත්මිය, තේමික ලියනගේ, ලිතුලි ලියනගේ, තිසරි ලියනගේ යන දරුවන් - මහර - රු. 2,500/- ■ එච්. එස්. අරම්පොල මහතා - ඇමරිකාව - රු. 2,500/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,160/- ■ පූජ්‍ය කොච්චිකඩේ ප්‍රඥාමූර්ති හිමි - රු. 2,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා, චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය සහ සෙව්මිණි දම්නාද අමරසේකර දුව - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ උදේශා සංජීවනී මෙනවිය - යක්කල - රු. 2,000/- ■ දුලාංජනී සශිකලා මෙනවිය - වල්ගම්පොත - රු. 2,000/- ■ ශ්‍යාමනී වේවැල්වල මහත්මිය - පන්නිපිටිය - රු. 2,000/- ■ ජගත් විජේසිංහ මහතා ඇතුළු පවුලේ සැම - බත්තරමුල්ල - රු. 2,000/- ■ චාන්දනී සමරකෝන් මෙනවිය සහ චාමනී සමන්මලී මහත්මිය - කන්තලේ - රු. 2,000/- ■ කසුන් මහතා සහ ලියන්ගනී මහත්මිය - යාගොඩ - රු. 2,000/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනි මහත්මිය - කඩවත - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ හසිත බස්නායක මහතා - යක්කල - රු. 1,500/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳාන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළුගෙඩිහේන - රු. 1,000/- ■ කේ. වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු. 1,000/- ■ ශ්‍රීමා අබේකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර - රු. 1,000/- ■ මාලිනී බස්නායක මහත්මිය - අකුරැස්ස - රු. 1,000/- ■ ඉන්ද්‍රානි හෙට්ටිආරච්චි මහත්මිය - වෙලගෙදර - රු. 1,000/- ■ ඩී. ටී. ඒ. ගුණතිලක මහතා ඇතුළු පවුලේ සැම - වෙලගෙදර - රු. 1,000/- ■ දර්ශිකා විජේරත්න මහත්මිය - තලවතුගොඩ - රු. 1,000/- ■ ඒ. දිලාන් නුවන් පුතා - ස්කොට්ලන්තය - රු. 1,000/- ■ ඩබ්. ඒ. එස්. සෙනෙහෙලතා මහත්මිය, එම්. එල්. එම්. සුමනසූරිය මහතා, එම්. එල්. එම්. දර්ශන මධුශංක මහතා සහ එම්. එල්. එම්. සසිඳු දුල්සිත පුතා - වේවැල්දෙනිය - රු. 1,000/- ■ කුසුමා මැණිකේ වීරකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 1,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 1,000/- ■ එස්. එම්. ප්‍රේමරත්න මහතා සහ පී. ඒ. ඥානවතී මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ කේ. ඒ. උපාලි ජිනදාස මහතා - දිවුරුම්පිටිය - රු. 1,000/- ■ වසන්ත කුමාර ජයසේකර මහතා ඇතුළු පවුලේ සැම - නාරාහේන්පිට - රු. 1,000/- ■ සකුණිකා ප්‍රේමතිලක දුව - රදවාන - රු. 1,000/- ■ එල්. ඒ. වී. චන්ද්‍රසීලි මහත්මිය ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ ප්‍රසන්න චන්ද්‍රසිරි මහතා - කඩවත - රු. 1,000/- ■ පවනි රශ්මිකා මෙනවිය - වේයන්ගොඩ - රු. 1,000/- ■ විමල් බණ්ඩාර සෙනෙවිරත්න මහතා - මහනුවර - රු. 1,000/- ■ චාමික මධුරංග මහතා - ලෙනගල - රු. 1,000/- ■ විනීතා කැකුලාවල මෙනවිය - කඳන්ගමුව - රු. 1,000/- ■ මැණිකේ දිසානායක මහත්මිය - කැලණිය - රු. 1,000/- ■ නිලන්ති දබරේ මහත්මිය - පිටකෝට්ටේ - රු. 1,000/- ■ රෝහණ පීරිස් මහතා - මාතලේ - රු. 1,000/- ■ දමිත් නදීර මහතා - කඩවත - රු. 1,000/- ■ නලනි විජේතුංග මහත්මිය ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 1,000/- ■ ඒ. ජී. කරුණාරත්න මහතා - කඩවත - රු. 1,000/- ■ චමිලා පෙරේරා මහත්මිය - දංකොටුව - රු. 1,000/- ■ කේ. එම්. කේ. ඩග්ලස් පෙරේරා මහතා සහ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍ර කුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, ඩී. කේ. විජේසූරිය මහතා - අළුබෝමුල්ල, රුචිරා පියසේකර මෙනවිය - රඹුක්කන, විශුද්ධා තරුනෙතු මෙනවිය - රදවාන, ඉමිල අමල් මහතා - කඩවත, ශ්‍රීනාත් සෙනෙවිරත්න මහතා - අත්තනගල්ල, ජී. ඒ. නිමල් මහතා - රන්පොකුණගම, ධම්මරත්න මහතා - තුම්මෝදර, සුජීව මහතා - දෙල්ගොඩ - එකතුව - රු. 6,950/- ■ විවිධ පින්වතුන් විසින් ලබා දුන් පරිත්‍යාග - රු. 3,255/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 419,169/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 15,235/- ■ සම්පූර්ණ වියදම - රු. 410,485/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.36/- ■ ඉතිරි ආධාර මුදල් සහ සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව සම්දිටු ගුණ පහල කරගෙන තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

## පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...

**www.waharaka.com   webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 036 2267111 / 076 8092008 / 076 3639891**

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා. 2 වන සහ 4 වන සෙනසුරාද භාවනා වැඩසටහන් පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව – රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදළ අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

### හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාප ඇතුලු සියලු කලාප දැනට ලබාගත හැකි ස්ථාන:

■ චන්ද්‍රලු වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිඳිවැල. 071 0118101 ■ කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත. - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි - මූණගම, හොරණ - 071 2608776 ■ සමනල පොත්හළ - නෙළුව - 071 2837757 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 4133487 ■ මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 ■ සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 071 8261500 / 066 2245353 ■ චන්ද්‍රලු වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ඒකනායක මන්තින්දරාමය - ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61 / 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස්, අංක ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන - කට්ටකඩුව, ආඩියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ ශෛල පබ්බතාරාමය, ගිජ්ජගම, පොල්ගහවෙල - 071 212 5880 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ ඇම්. ටී. බණ්ඩාර පොත්හල, කොළඹ පාර, පොල්ගහවෙල, 077-3807489 / 076-8036126 ■ ළහිරු පූජා භාණ්ඩ, කොළඹ පාර, මදුරන්කුලිය, 076-7768053 / 071-8375871 ■ චමින්ද කොමිනිකේෂන්, සුපිරි වෙළඳ සංකීර්ණය, ප්‍රධාන වීදිය, මැදගම, 071-6253031 / 071-8375871 ■ සඳමිණි පූජා භාණ්ඩ, කුලියාපිටිය පාර, දුම්මලසූරිය - 077 4430223 ■ ටී. කේ. මීගහකොටුව, මීගහකොටුව, කුලියාපිටිය - 037 2283337

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# බද්ධවේරක ඇතා...



පසේනදි කොසොල් මහ නරනිඳුන් සතු
විසේසිත ගුණෝන් සවියෙන් වෙරෙන් යුතු
තොසේ වඩන යුද පිටියෙහි නිපුන් ඇතු
කෙසේ වැටුණි දෝ විපතක අසන් මිතු

ජල පහසුව පිණිස පිවිසුන සඳෙහි එදා
විල මැද එරුනි සිරුරම ඇත මඩෙහි කිඳා
ගල වනු නොහුනි වෙහෙසුනි සැම විරිය යොදා
සැල වුනි රජුට එයි ඇතු ගනු පිණිස මුදා



අණ ලෙස රජුගෙ එහි යුද සිරි මවන ලදී
සෙන ගය විල වටා හඬ දෙති පෙළට සැදී
රණ බෙර වයති ඇත යුදයක සිරිය රැඳී
මන ඔද වැඩුනි දඟලයි ඇතු යයිද මිදී

ජය ගොස නැගුනි ඇත් රජු ගොඩට පැමිණුනා
එවිගස ඇතුගෙ දස්කම නුවර පැතිරුනා
එදවස සඟන එහි පිඬු පිණිස හැසිරුනා
පිළිවිස දැන පුවත බුදු හිමිට පැවසුනා



සඟ ගණ රැස්ව වැඩ හිඳ දම් සබාවේ
වග තුග කතාවෙති දුටු එන වෙලාවේ
මග තොට ඇසු කතා ඇතු ගැන මනාවේ
භග වත් සමිඳු එගැනය බණ දෙසුවේ

මහණෙනි එඇතු ගොඩ එනු වස් දරපු වෙර
නුවණිනි මෙනෙහි කර කෙළෙසුන් නසන යුර
දිරියෙනි වෙර වඩනු නොපමා ගුණෙනි තිර
එනයිනි ඉම දකිත හැකි මෙම සසර ගොර

මැලි ගති දුබල ගති විරියෙන් මැඩීමෙන්
පින ඇති නැණැති දන සතියෙන් විසීමෙන්
සැනසෙති දෙලොව සව් කෙළෙසුන් නැසීමෙන්
දැනුමැති වනු එගැන විදසුන් වැඩීමෙන්



මිනිස් සිතට රූ සඳ ඈ පිටින් එන
අපිස් බව නසන අරමුණු බැවින් රින
උසස් ලෙස වඩනු විදසුන් නැණින් මන
කෙළෙස් මඩින් ගොඩ වෙනු බුදු බණින් දැන

(ධම්ම පදය - නාග වග්ගය ඇසුරෙනි)

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# බිය ගන්වා හැකිද බුදු බණ රැක ගන්න?

සිව් පසයට නොවව් ණය බුදු හිමි දෙසුව
ලොව්තුරු දහමෙ කියවෙන එපුවත ඇසුව
කවුරුද රිසි වුනේ ගිනි කන විට පසුව
කිව් කළ දෑ කුමට දුගතියකට හසුව

නිල බලතල තියෙන අය අණසක පතුරා
සළකයි මග වඩන උදවිය ලෙස සතුරා
කල නම් ගෙවයි මුවගින් බණ පද උතුරා
එල නම් නොවේ හද තුල නැති විට මිතුරා

බණ දම් නොරැක කඩු පොලු සහ වදන් රළු
ගෙන සසුනෙහි සිටින අය හදවතින් කළු
දැන නොසිටියට අත්බැව මරණයෙන් දළු
ලන තැන දුගතියයි සිය කම් බලෙන් වෙළු

කටවල් වසා බණ දම් දෙසුමට නොදෙනා
පිටකය ඉබි යතුරු ලා උරුමය හැදෙනා
නට නට ඉඳියි බොදුනුවෝ යන නම බැඳෙනා
රටකට හරි යයිද මේ වැඩවල යෙදෙනා

මැස්සක් තණ ඇතිරියක් ගෙන බවුන් වඩා
දොස් නෙක පහ කරන විට සමහරුන් දොඩා
බස් රළු වදන් මදිවට පන්සලුත් කඩා
තොස් වෙති සසුන තුල මතු වැළපෙමින් හඬා

පෙළ දම් පොත් මකුළු දැල් දුහුවිලිද බැඳ
කල ගිය විටෙක එහි ඇති නිසි අරුත ඇද
බලනට කියා දුන් හිමිවරු වැරදි වෙද
සැළ වෙයි එවැනි තතු මේ බොදු රටෙහි අද

බුදු සසුනෙහි තරම් නිදහස කොහිද වෙන
මිදුමට සසර නැත සීමා පදයකින
උදුරති එහිමිකම සමහරු මැරයො මෙන
පුදුමෙකි සිරි ලකේ නැතිවද මුනිඳු බණ

පිල් බෙදී දහම ගැන කර මත වාද
පල් වෙවී ගියොත් නිවනට ඇත බාද
මුල් වෙලා දහම් නොවඩා කර බේද
කල් ගෙවා මළොත් යහපත සිදු වේද

බණකට ඇයිද මේ හැටි ගහ බැන ගන්නේ
නිවනට නොවෙද මේ ලෙස විරසක වන්නේ
මෙලොවට පමණි මරණෙදි නැත ගෙනි යන්නේ
දවනට කෙළෙස් නැතිවද නට නට ඉන්නේ

එදත් මුනිඳු වැඩ සිටි කල දහමෙ ගුණා
නොදත් උදවියම මේ ලෙස කුපිත වුනා
මෙදත් සසුනෙ සිට ගුණ නොම වඩන කෙනා
හදත් කතා තම පැවතුම පිණිස වෙනා

නිවන් මගයි බුදු දහමින් කියවෙන්නේ
එවන් දහමකට ඇයි නිගරුව දෙන්නේ
පවන් සලන මොහොතකි දිවි පවතින්නේ
නොවන් පසුතැවිලි හනිකට පැන ගන්නේ

බිය ගන්වා හැකිද බුදු බණ රැක ගන්න
එය හිමි දෙසුමටත් නොහැකිය ගලපන්න
පියවර තැබුවහොත් අරි අට මග යන්න
ණය නැත සසුනටත් හැක මතු සැනසෙන්න

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1092 RS.25.00
HELA BODHU PIYUMA 92

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.